සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2017 අගෝස්තු)

71 වෙනි කලාපය



## නැණවත් බොදු දරුවෙක් ලොවට දායාද කරමු...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# කාල විපත් පැමිණියදා!

පබා විහිද ලූ දම් සර යහ ගුණ පැවතුනද රටේ
ලබා ගනු පිණිස අයුතුව උඩු යටිකුරු තරඟ ගැටේ
ඉබා ගාතෙ දිව යන්නට කුමටද වේගයක හැටේ
සොබා දමත් වියරු ලෙසින් අසරණ කොට දුනිද බැටේ

ගොළු විපතකි කුණු කන්දල් එක තැනකට ගොඩ ගැහිලා
සුළු පටුයිද ඒ වුන දේ මහ වැනසීමක් දැකලා
හෙලු කඳුලැලි වියලෙන්නට පෙර ගංවතුරත් ගළලා
මුළු රට හේතුවක ඵලය නොදනිති දැමුවත් පෙළලා

පුංචිම සතෙකුට හැකි වී ජීවිත අවදානම කට
ඩෙංගුයි නම කී රෝ බිය පැතිරී යන හැටි රට තොට
පන්නා දැමුමට නොකළේ මොනවද හැම දෙන ලහි පිට
සංසාරෙක හැටිද අනේ දෙයි දුක දෙන විට පිට

අවුලා රාගයෙ ගිනි කඳ දන මන පිනවන විලසට
මවලා රූ ඔප කර වාහිනියක ඇඳ බැඳ තැබුමට
වහලා සුදු පිරුවටයෙන් මෝහය දෝසද සම කොට
දුරලා පර සතුරු ලෙසින් හඳුනමු හෙට පිටු දැකුමට

ළමා සාරි හැඳ වෙහෙරෙහි පිං කටයුතු කළ ඇයටද
තමා දූ පුතුන් පෙරටුව නැටුමෙන් ගැයුමෙහි තුටු වෙද
ළමා පරපුරත් ඉවරයි දස අකුසලයෙන් පිරුණිද
දමා දන්න වැඩ කැටයම් නිරේ වැටෙන්නට යනවද

කාල විපත් හිස එස වී මළ මිනි ගොඩ ගැසුනු වෙලේ
කෝල නැතිව වන පවුකම් රටකට ඵල නොදෙන කලේ
බාල මහළු කොයි කවුරුත් ඇස කන පිනවුමට ලොලේ
ගාල පිටින් එනව ඇදී මළ අමනුස්සයොද බොලේ

දුක් පැමිණෙන විට දකින්න සිත් දෙවිඳුනටත් බෑනේ
ලක් දෙරණට බැලුම් හෙලූ දෙවි රැකවරණත් නෑනේ
රැක් කළු වැටි කඩා වැටී ඉර හඳ නිසි තැන නූනේ
මොක් පුර යනු රිසි අයටම අනිසය දුක දැනුනානේ

මහ තැනින්ම ගෙන ඇරඹුම කිලිටි වූ අකුසල සෝදා
වහ වහ සදහම රැක ගමු සෙතටම පෙර පින පාදා
අහසද හෙලු වැහි අකලට යළි යළි ඉහළට ඇඬා
අහවර වෙයි හැම උවදුරු දහමෙහි නොසැලෙන බාදා

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ





# පෙළ දහමින් නිවන් මග

10

පසුගිය කලාපයෙන් ජාති ධර්ම, ජරා ධර්ම, ව්‍යාධි ධර්ම, මරණ ධර්ම, ශෝක ධර්ම... ආදිය විස්තර සහිතව පැහැදිලි කළා. ආර්ය සහ අනාර්ය පර්යේෂණවල වෙනසත් දැනගත්තා. ඒ වගේම ලොව්තුරා බුදුන් වහන්සේ මේ ආර්ය පර්යේෂණයට බැස ගත්ත ආකාරයත්, උන්වහන්සේට ඒ පර්යේෂණයට හේතු සාධක වුන සිතිවිලිත් විස්තර කළා.

මහණෙනි, ඒ මට මේ අදහස් විය. කුමක් නිසා මම තෙමේ ජාති ධර්ම වූයෙම් ජාති ධර්මයක්ම සොයම්ද, තෙමේ ජරා ධර්ම වූයෙම් ජරා ධර්මයක්ම සොයම්ද, තෙමේ ව්‍යාධි ධර්ම වූයෙම් ව්‍යාධි ධර්මයක්ම සොයම්ද, තෙමේ මරණ ධර්ම වූයෙම් මරණ ධර්මයක්ම සොයම්ද, තෙමේ ශෝක ධර්ම වූයෙම් ශෝක ධර්මයක්ම සොයම්ද, තෙමේ සංක්ලේශ ධර්ම වූයෙම් සංක්ලේශ ධර්මයක්ම සොයම්ද? (අරිය පරියේෂණ සූත්‍රය - 401 පිටුව - මජ්ජිම නිකාය - 1)

උන්වහන්සේට මේ සිතිවිල්ල පහළ වුනේ බෝසත් අවධියේ. ඉතින් ශ්‍රී මුඛ බුද්ධ දේශනාවටම අනුව, තමන් තමන්වම උපමාවට අරගෙන තමයි ඒ සිතිවිල්ල හිතුවෙ. මම මේ මනුස්ස ජාතියේ උපන්න කෙනෙක්. ජාතියක උපන්න නම් ඒකට පොදු ධර්මතාවයක් තියෙනවා. ඒ තමයි ජරාවට, මරණයට පත්වෙන එක, ලෙඩ දුක්වලට භාජනය වෙන එක. ඒ කාරණා මටත් පොදුයි. එහෙම ලෙඩ දුක්වලට, නොයෙක් දුක් කරදරවලට මුහුණ දෙන මම, ඒ වගේම මරණය උරුම කරගෙන උපන්න මම, නොයෙක් කෙළෙස් තියෙන මම, ඇයි ඒ ජාතියේම ජාතියක් හට ගන්න, ජරාවක් තියෙන, ව්‍යාධියක් තියෙන, මරණයක් තියෙන තවත් එකක් හොයන්නෙ? ඉතින් මේක තමයි ප්‍රශ්නය වුනේ. මේකට උත්තර හොයන එක තමයි සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකට වඩා කළේ. එදා දීපංකර බුදුන් වහන්සේ අභියස නියත විවරණ ගත්ත මොහොතේ පටන් ගත්ත අරිය පරියේෂණයේ අවසාන ප්‍රතිඵලය වුනේ බුද්ධත්වය.

කෙනෙකුට හිතෙන්න පුළුවන්, දෙවියක් වුනොත් හොඳයිනෙ කියල. ඔව් හොඳයි. අපාගත වෙනවට වඩා දස දහස් කෝටි වාරයක් හොඳයි. ඒත් අපි දන්නවා දේව කියන්නෙත් ජාතියක් කියල. භවය ප්‍රත්‍ය කරගෙන, එහෙම නැත්නම් අපිම උපාදාන කරගෙන හදාගත්ත නිර්මාණාත්මක ශක්තියක් නිසා හට ගත්ත ජාතියක්. අවිද්‍යාව මූලික කරගෙන හට ගත්ත සියල්ලන්ටම පොදු ලක්ෂණය තමයි ජරා... මරණ. ඒකට දේව ජාතිය කියල වෙනසක් නෑ. ඒ නිසාමයි උන්වහන්සේ තමන්වම උපමා කරගෙන ආර්ය පර්යේෂණය කළේ.

ජාති, ජරා, ව්‍යාධි, මරණ උරුම වෙච්ච මම, තවත් ඒ ජාතියේම එකක් පතන්නෙ ඇයි? මමත් කැඩෙන බිඳෙන දෙයක් නම්, මම හදන ඕනම දේකට ඒ ලක්ෂණය අනිවාර්යෙන් උරුමයි. සර්ව සම්පූර්ණ නැති මගෙන් හට ගන්න කිසිවක් සර්ව සම්පූර්ණ වෙන්නෙ නෑ. ඒ නිසා මම හදන දේව ජාතියක් වේවා, මනුස්ස ජාතියක් වේවා, බ්‍රහ්ම ජාතියක් වේවා ඒ සියල්ලටම ජරා, මරණ උරුමයි. එහෙම එකක් ඇයි මම පතන්නෙ කියන සිතිවිල්ල තමයි ආවෙ. මේ ප්‍රශ්නෙට උත්තර හොයන එක තමයි ආර්ය පරියේෂණය කියන්නෙ. ජාති, ජරා, මරණවලට විරුද්ධ පැත්ත තමයි ජරාවක් මරණයක් නැති අජරාමර පැත්ත. තනි වචනයකින් කියනව නම් නිවන. ඒ නිවන සොයන එක තමයි අරිය පරියේෂණය කියල කියන්නෙ. ඒ කාරණය ලොව්තුරා බුදුන් වහන්සේම මේ විදිහට දේශනා කරල තියෙනවා.

මම ජාති ධර්ම වූයෙම් ජාති ධර්මයෙහි ආදීනව දැන, ජාතියක් නැති නිරුත්තර වූ යෝගක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. ජරා ධර්ම වූයෙම් ජරා ධර්මයෙහි ආදීනව දැන, ජරාවක් නැති නිරුත්තර වූ යෝග ක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. තෙමේ ව්‍යාධි ධර්ම වූයෙම් ව්‍යාධි ධර්මයෙහි ආදීනව දැන, ව්‍යාධියක් නැති නිරුත්තර වූ යෝග ක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. තෙමේ මරණ ධර්ම වූයෙම් මරණ ධර්මයෙහි ආදීනව දැන, මරණයක් නැති නිරුත්තර වූ යෝග ක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. තෙමේ ශෝක ධර්ම වූයෙම් ශෝක ධර්මයෙහි ආදීනව දැන, ශෝකයක් නැති නිරුත්තර වූ යෝග ක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. තෙමේ සංක්ලේශ ධර්ම වූයෙම් සංක්ලේශ ධර්මයෙහි ආදීනව දැන, සංක්ලේශ නො වූ නිරුත්තර වූ යෝග ක්ෂේම වූ නිවන සොයන්නෙම් නම් මැනව. (අරිය පරියේෂණ සූත්‍රය)

ඉතින් ගිහි ගෙදර ඉන්න කාලෙ ඉඳන්ම මේ සිතිවිල්ලෙන්ම තමයි උන්වහන්සේ ඉඳල තියෙන්නෙ. උන්වහන්සේ මේකට පිළිතුරු විවිධාකාරයෙන් හිතන්න ඇති. ඒ අතරතුර තමයි උන්වහන්සේට සතර පෙරනිමිති දකින්න ලැබෙන්නෙ, මෙච්චර කාලයක් තමන් වහන්සේ හොයපු පිළිතුරට මාර්ගයක් ලැබෙන්නෙ. ඒ මාර්ගයට බහින්න නම් උන්වහන්සේ ගිහි ගෙයින් නික්මෙන්න ඕන. ගිහි ගෙයි ඉඳන් ඒක කරන්න බෑ. ඒකට ගත්ත තීරණය තමයි මහාභිනිෂ්ක්‍රමණය. **අද බොහෝ දෙනා දන්න පරිදි, උන්වහන්සේ ගිහි ගෙයින් නික්මුනේ හොර රහසින්මයි.**

**නමුත් උන්වහන්සේගෙ දේශනාවට අනුව නම්, මොන මොහොතේ හෝ සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ ගිහි ගෙයින් නික්මෙන බව සියල්ලන්ම දැනගෙන හිටියා. ඒ නික්මෙන වෙලාව තමයි නොදැන හිටියෙ.**

මහණෙනි, ඒ මම පසු කාලයෙහි ළදරු වූයෙම්, ඉතා කළු කෙස් ඇත්තෙම්, පළමු වන වයස වූ සොඳුරු යොවුනෙන් යුක්ත වූයෙම්, නො කැමති වූ කඳුළු පිරුණු මුහුණු ඇති මවුපියන් හඬද්දී, කෙස් රැවුළු බා කහවත් හැඳ ගිහි ගෙයින් නික්ම පැවිද්දට පැමිණියෙමි. (<u>අරිය පරියේෂණ සූත්‍රය</u>)

ඊට පස්සෙ වෙච්ච සිදුවීම අපි හැමෝම දන්නවා. මේ සූත්‍රයෙත් ඒ සියල්ල මැනවින් විස්තර කෙරෙනවා. උන්වහන්සේ ගුරුවරුන් හොයාගෙන ගිය හැටි, එතැනින් අවශ්‍ය පිළිතුරු නොලැබුන හැටි, ඊට පස්සෙ තමන් වහන්සේම නොයෙක් ක්‍රම අත්හදා බලපු හැටි, අවසානයේ බුද්ධත්වය ලැබුන හැටි මැනවින් විස්තර කෙරෙනවා. මේ පරියේෂණයට කියන තවත් නමක් තමයි, කුසලය සෙවීම. මහණෙනි, ඒ මම කුසලය කුමක්දැයි සොයන්සුළු වූයෙම් අනුත්තර උතුම් නිර්වාණ පදය සොයමින් මගධ දනව්වෙහි පිළිවෙලින් සැරිසරන්නෙමි උරුවෙලායෙහි සේනානි ගමය කරා පැමිණියෙමි. (<u>අරිය පරියේෂණ සූත්‍රය</u>)

ඒ කියන්නෙ කෙනෙක් ජාතියක්, ජරාවක්,ව්‍යාධියක්,මරණයක්,ශෝකයක්, ක්ලේශයක් නැති දෙයක් හොයනව කියන්නෙ, කුසලය සොයනවා කියන එක. ඉතින් ජාති, ජරා, ව්‍යාධි, මරණ, ශෝක, කෙලෙස් ඇති තැන්, පහකළ යුතු තැන් හැටියට අරගෙන, එහෙම නැත්නම් මේවා පහත් දේවල්, ඒවා සලා හැරිය යුතුයි කියල දැනගෙන, ඒ සලා හරින වැඩපිළිවෙල ක්‍රියාත්මක කිරීමට අරිය පරියේෂණය හෙවත් කුසලය කියල කියනවා. මෙතනදි අපට තවත් ප්‍රශ්නයකට ලේසියෙන්ම පිළිතුරක් ලැබෙනවා. ඒ තමයි පිනයි කුසලයයි දෙකක් කියන කාරණය. හැබැයි සමහර අවස්ථාවල පිනට කුසලය කියලත් හැඳින්වෙන තැන් තියෙනවා. ඒ නිසා අවස්ථානුකූලව තැනේ හැටියට ගළපල ගන්න ඕන.

ඉතින් මේ මහා පරියේෂණයේ මුල්ම ප්‍රතිඵලය ලැබුනෙ සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේට. උන්වහන්සේ ඒ ප්‍රතිඵලය උදාකරගත්තෙ ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වෙලා. ඊට පස්සෙ සහම්පති බ්‍රහ්මයගෙ ආරාධනාවෙන් ලෝක සත්ත්වයාට ධර්ම දේශනා කළාම ඒ අය ශ්‍රාවකයන් වශයෙන් ප්‍රතිඵල නෙළා ගත්තා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු සමගින් අරිය පරියේෂණ සූත්‍රය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

---



---

# පින්වතුන්ගේ දැන ගැනීම පිණිසයි.

හෙළදැනට වෙළඳපොළේ මුද්‍රණ කඩදාසි ඇතුළු ඒ හා ආශ්‍රිත නිෂ්පාදනවල මිල ගණන් ඉතා ඉහළ ගොස් ඇති බැවින් මෑතක සිට හෙළ බොදු පියුම දහම් සඟරාවේ මුද්‍රණ පිරිවැයද අසාමාන්‍ය ලෙස වැඩි වී ඇත.
ඒ හා සමගාමීව පසුගිය කලාපවල නැවත මුද්‍රණ වියදම්ද ඉහළ ගොස් ඇත. මේ දක්වා එළි දක්වන ලද සියළුම සඟරා කලාපද ලබා ගැනීමට හැකිවන අයුරින් නැවත මුද්‍රණය කර ඒ සඳහා වෙනම සඟරා ගබඩාවක්ද පවත්වාගෙන යෑම සිදු කරන බැවින් සමස්ත වියදම වැඩි වී ඇත.
එහෙත් මෙම සඟරාව කිසිදු මූල්‍යමය ලාභයක් බලාපොරොත්තුවෙන් කරන්නක් නොවන නිසාත්, පින්වතුන් ලබාදෙන මූල්‍ය පුණ්‍යාධාර නිසාත් තවත් හැකිතාක් කාලයක් රු. 25/= මිලකට ලබා දීමට තීරණය කර ඇත.

# මිතුරු වෙසින් සිටිනා සතුරන් හය දෙනා...





අපි කොච්චර සුද්ධ පවිත්‍ර කළත්, සුවඳ රස මධුර දේ කොච්චර ලබා දුන්නත්, ඖෂධ වර්ග කොච්චර ලබා දුන්නත්, අපේ ඉඳුරන් හැමදාම කළේ හැම තැනින්ම වා, පිත්, සෙම්, සොටු, දාඩිය... ආදී අපවිත්‍ර දේ පිට කිරීම. වාතයෙන්, පිතෙන්, සෙමෙන් කෝප කළා රෝග කළා මිසක් සැනසිල්ලක් දීල නෑ. නමුත් අපි හැමදෙනාම මහත් ආදරයෙන් රැක ගන්න උත්සාහ කළ වෙනත් කිසිම වස්තුවකුත් නෑ. හැම කෙනෙක්ම සියල්ලටම ප්‍රථමයෙන් රැකබලා ගන්න උත්සාහ කරන්නෙ ඇස, කන, දිව, නාසය, ශරීරය, මන කියන ඉඳුරන්. නමුත් ඒ ඉඳුරන් හතුරුකම් කළා මිසක් අන්තිමට කරල දීපු හොඳකුත් නෑ. හොඳ දේම ලබා දෙන විදිහට පෙනී සිටිමින්, මායා ආස්වාදයක්ම ලබා දෙමින්, ඒ මොහොතේම වැනසෙන, රඳා නොසිටින ආස්වාද පෙන්වමින් අපි හැමදෙනාම රවටපු, දැනටත් රවටන වෙනත් කිසිවෙක් නෑ. මුළාවට පත් කරල සැනසුම ලබා දෙනව වගේ පෙනී ඉඳල, බොරුවෙන් රවටල දුක් දාහ දීල වැනසිලා යනව මිසක් ඉතුරු කරපු දෙයක් නෑ.

තමන්ට ලබා දෙන්නැයි කියල රවටල ලෝකයේ දේපොළ, ඉඩකඩම්, ගේ දොර, අඹුදරු... ආදී නොයෙක් වස්තු පෙන්වල, මුළු ජීවිතයම වෙහෙසවල අන්තිමට කිසිම ආස්වාදයකින් තෘප්තිමත් නොකර අතරමං කරල අපිව වනසල දාපු කිසිවෙක් තවත් නෑ. ඒ වගේම අපිව රවටමින් රාග ගිනි ඇති කරල, තරඟකාරීව ගැටෙන්න සලසමින් දිවා රෑ වෙහෙසවමින් පාප රැස් කරල, පව් කඳක් අරගෙන යන්න හිර කරල බැඳල තියල වැනසිලා ගිය මෙච්චර දුෂ්ට පිරිසක් තවත් නෑ. ගැටෙන්න සලසමින් පාපයට උනන්දු කරවමින් දැඩි කරවමින් රවටමින්, විඳල කෙළවර කරන්න බැරි පව් කඳක් රැස් කරල වැනසිලා ගිය මෙච්චර සතුරන් හය දෙනෙක් (ෂඩ් ඉන්ද්‍රියන්) තවත් කිසි තැනක නෑ. සදාකාලික ලාභයක් ලබා දෙන විදිහට මායා මුළාවම දෙමින්, නැති දේ ඇති සේ පෙන්වමින්, සතර මහා භූත නම් වූ කිසි හරයක් නොදෙන දේවල්වලින් මුළාවක් මවල, ප්‍රිය මධුර බව පෙන්වල ලෝක මායා දැලේ පටලවපු මෙබඳු හය දෙනෙක් කිසි තැනක නෑ.

යහපතට මග වහමින් මිදීමට, අත්හැරීමට, නොඇලීමට ඇති ඉඩකඩ අවුරමින් හිස් බවටම පාර කපපු මෙබඳු හය දෙනෙක් තවත් කිසි තැනක නෑ. පෙනි පෙනී තිබුණත් ඇත්ත වසන් කරමින් වදයටම ඇද දමල ප්‍රමාද කරල මුළා කරපු මෙබඳු හය දෙනෙක් තවත් නෑ. අනාදිමත් සසර පටන් මුළාවෙන් මිදෙන්න ඉඩ නොදුන් මේ හයදෙනා පරපුරටම ගිනි දුන්න වගේම, ලෝකයේ හැම දෙනාටමත් අනාදිමත් සසර පටන් ඒ විදිහටම ගිනි කඳන් මතු කර දෙමින්, දැන් අපි කරාත් එමින් අපටත් ජීවත් වෙන හැම දෙනාටත් විනාසය, ගින්න දෙමින් බොරුවෙන් මැවිල පෙනී ඉන්නවා.

මේ අයගෙ හැටි කියල දෙන අයට අපහාස කරමින්, ඒ අයත් වනසමින් මාරයා සමග එකට ගැවසෙන මේ ඉඳුරන් හයදෙනා, දැන් වගේම සීමා රහිත වූ අනාගතයෙත් ගිනි දෙමින් වනසමින් අපි පසුපස එන්න මාන බලනවා. අතීතයෙත් ගිනි දීල, අනාගතයටත් ගිනිම ඉදිරියට ගෙනියන්න සලස්වල, වර්තමානයෙත් ගිනි කඳන් හයක් දල්වල, දවන තවන මේ හයදෙනා ලෝකයේ හැම සත්ත්වයෙක් වෙතම ඇලෙමින් ගැලෙමින් මාරයා සමග එකතු වෙලා ඉන්නවා. අනුන්ට ගිනි දෙමින් වනසමින් අනන්ත කාලයකට නිවාගන්න බැරි ගිනි කඳන් හයක් දල්වල තියල මරාගෙන මැරෙන මේ කල්ලියේ හයදෙනාට බය නොවන, රැවටුන සත්ත්වයෝ අනාදිමත් සංසාරයේ පටන් රැවටෙමින් හොඳම හිතවතුන් විදිහට හිතාගෙන, ඒ හයදෙනාගෙ හැම බැල මෙහෙවරක්ම කරමින් දැනුත් ළඟම ඉන්නෙ අවිද්‍යා පටලයෙන් අඳුරල සැබෑ තතු නොපෙන්වා මෝහයෙන් අඳුරු කරමින්.

අගේ ඉඳන් කන කනවා වගේ මේ ඉඳුරන් හයදෙනා තමන් ළඟ ඉඳගෙන දෙන මහා ගිනි කඳ මදිවට, කර ගන්න බැල මෙහෙවර මදිවට, තමන්ගෙ කපටි බොරුකාර හිතවතුන් හයදෙනෙක් පිටත ඇතින් තියාගෙන (බාහිර ආයතන හය) දවස ගානෙ දහස් ගණන් ඊ පහරවල් විදිමින් කපල කොටල හිංසා කරමින්, දුර හතුරන් හය දෙනෙක් මිතුරන් විදිහට රවටමින් මායා හිතවත්කමක් බැඳල දෙනවා. මේ හය දෙනා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන නම්වලින් පෙනී ඉන්නවා. ළඟ ඉන්න හයදෙනා මේ දුරින් ඉන්න හයදෙනා සමග මායාවෙන් රවටමින් ළඟට ගන්න සලස්වල, ළඟට ගත්තට පස්සෙ වටිනා ලොකුම මිතුරන් විදිහට පෙනී සිටිමින් ඔවුන්ගෙත් සියලු බැලමෙහෙවරකම් කරව ගන්නවා.

මේ දොළොස් දෙනාම එකතු වෙලා ඇති කරන මාරාන්තික ගින්න අහස උසට දල්වෙන මහා ගිනි කඳක් බවට පත් කරමින් අනන්ත කාලයකට නොනිමෙන්න සලස්වමින් උපාදාන නමැති බාන, යදමකින් දුවන්න බැරි වෙන විදිහට බැඳල ඒ ගින්න මැදට දමල දොළොස් දෙනා වධකයන් යමපල්ලන් වෙලා හිතවත් වෙස් මුහුණු දමාගෙන රවටමින්, වැට බැඳගෙන කොටු කරගෙන ඉන්නවා. ඒ වෙස් මුහුණු ගලවල බලන්න උත්සාහ කළොත් ඒ ඇස් අන්ධ කරල, වනසන්න පුළුවන් හැම පියවරක්ම ගන්නවා. නමුත් පැනල යන්න උත්සාහ කළොත් ගිනි හංගගෙන අළු යටට වදිනවා. (මේ තමයි ලෞකික සමාධිවල හැටි) නැවතත් දුර්වල වුනාම වහා නැගී ඉඳල ගිනි කඳ දල්වල දවනවා, තවනවා, කපනවා, කොටනවා, වනසනවා, හුල් අනිනවා, ඉරනවා. පිපාසිත බව දනුම් දුන්නම දුවිල වැනසිලා යන ලෝදිය කටට හෙළනවා. පපු කුහර දවමින් වැනසිලා යනවා. යදම් බිඳගෙන යන්න බැරිව ඉන්නකොට මායා නැලවිල්ලකින් මායා වෙසින් පෙනී ඉඳල සැරසිලා මුළා කරමින් මෙහෙම ආදර බස් කියනවා.

"හිතවත මම ඔබේ ප්‍රියාදර ඇස වෙමි. හිතවත මම ඔබේ ප්‍රියාදර කන වෙමි. හිතවත මම ඔබේ ප්‍රියාදර නාසය වෙමි. හිතවත මම ඔබේ සුහද මිතුරා වන දිව වෙමි. හිතවත ප්‍රියාදරය, මම ඔබේ මනාලිය වන සිරුර වෙමි. මාගේ විස්වාසවන්ත අවංක මිත්‍රය, මම ඔබ සැමදා රැක දෙන මන වෙමි." මේ විදිහට හැමදෙනාම එකතු වෙලා, එන්න අපිත් එක්ක සැනසෙමු කියල අලුත් උපතක් ගෙන දෙමින් නැවතත් එකතු වෙනවා. අළුත් උපතක් කිව්වම, මස් ලේ කයින් මැරිල ගිහින් අළුත් කයක් සමග බිහි වීම එක අවස්ථාවක්. නමුත් ඊටත් පෙර මේ මස් ලේ කය තියෙද්දිම විවිධාකාර දේවල්වලට රැවටිලා මනසින් මැරි මැරී උපදින වාර අනන්තයි, අප්‍රමාණයි.

මේ විදිහට රවට්ට ගත්තට පස්සෙ කලින් වගේම වධ හිංසා පමුණුවනවා. එතකොට දුර හිටපු පරම හතුරොත් මිතුරු වෙසින් පෙනී ඉඳල ළං වෙලා මෙහෙම කියනවා. "හිතවත මා ළඟට ගන්න, මම ඔබේ යහපත පතන ප්‍රිය රූප වෙමි. මම ඔබට මිහිරි හඬ ලැබේවායි පතන මිහිරි ශබ්දය වෙමි. මා වැළඳ ගන්න. හිතවත් මිතුර මම ඔබට සුව පතන සුවඳ වෙමි. ඒ නිසා මා ළඟට එන්න. හිතවත මා ඔබට අමෘතය පතන රසය වෙමි. එබැවින් මා ගිලගන්න. මාගේ සුහද මිතුර, මා ඔබගේ පහස පතන ස්පර්ශය වෙමි. මා වැළඳ ගන්න. දුර අතීතයේ පටන් කතා කරමින් සිටි මාගේ ලයාන්විත හිතවත, කවුරු ඔබ අමතක කළත් ඔබව අමතක නොකර පසුපස එන මම ඔබේ ධර්ම වෙමි. එබැවින් මා හා එක්ව වසන්න."

මේ ආකාරයෙන් කතා කරනකොට මේ මිහිරි වදන් ඇසුණු වහාම ලෝක සත්ත්වයෝ අසීමිත සතුටින් පිනා ගිහින් රැවටිලා, සදාකාලිකව තමන්ට වින කරමින් අනාදිමත් සසරේ පටන් ආ මරාගෙන මැරෙන කල්ලියේ පාපතරයින් දොළොස් දෙනා සමග එකතු වෙලා ඔවුන් දෙන මහා ගින්නෙන් අතුරු සිදුරු නැතිව ගිනිගෙන දුවී දුවී සසර ගමන ඉදිරියට ගෙනියනවා.

අමා මෑණියන් වූ බුදු රජාණන් වහන්සේගේ පහසින් ගිනි නිවාගෙන, සතුරන්ගේ බල සෙන් පරදවල, ඒ මහා නැණවත් මෑණියෝ දොවා දුන් අමා දහම් කිරි බිව්ව බුද්ධිවන්ත දරුවෝ (බෞද්ධයෝ) කිසි දිනක මේ මහා ගින්නට නැවතත් වැටෙන්නෙ නෑ. මේ ගිනි හඳුනන කොට ක්‍රමයෙන් සියලු ආදීනව පේන්න පටන් ගන්නවා. ආදී + නවය - ආදීනවය. ඒ තමයි **ආදියේ පටන් ආ අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාම රූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන කියන** මේවා. මේ ආදී නවයට පත් වුණොත් දුකට පත් වෙනවා. අද මේ තත්ත්වයට පත් වෙලා තියෙන්නෙත් මේ ආදී නවය නිසා. ආදීනව බලන්න කිව්වෙ ඒ නිසා. ඒ කියන්නෙ දුක සහ දුකට හේතුව බලන්න කියන එක. ආදීනවය නිරෝධ කළා නම් ඒ තමයි දුක්ඛ නිරෝධය. ඒ නිසා ආදීනව දක්ක නම් ආනිසංසත් දකිය යුතුයි. **නිවන සහ නිවන් මග කියන්නෙ ආනිසංස. "නිස" කියන්නෙ නිශ්‍රය කරනවා කියන එක. "අනිස" කියන්නෙ නිශ්‍රය නොකරනවා කියන එක. "අංස" කියන්නෙ පැත්ත. නිශ්‍රය නොකරන පැත්ත තමයි නිවන් පැත්ත.** මේ තමයි ආනිසංස කියන එකේ තේරුම. මහත්ඵල කියන්නෙ සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් කියන ඵල හතර. ඒ ඵල හතර නිසා ලබන නිවන තමයි මහානිසංස කිව්වෙ.

ඉපදෙන්න කලින් මතක නැති වුනාට, මව සැර ආහාරයක් ගත්ත නම් බඩ ඇතුලෙදිත් දරුවා දඟලනවා. අපි හිතමු අතපය හිර කරල කට හිර කරල දඟලන්න බැරි වෙන්න දරුවෙක් ගෝනියකට දමල බැඳල තිව්ව කියල. එතකොට හරිම අමාරුයි. මේ විදිහට මාස නවයක් දහයක් ඉඳල දරුවෙක් විදිහට මව් කුසින් බිහි වෙනවා. අවුරුදු තුනක් පමණ යනකල් කොච්චර නම් වේදනාවෙන් අඬනවද? අපි එදා දුක් වුන හැටි, අඬපු හැටි අද මතක නැති **වුණාට පොඩි ළමයි ඒ විදිහට දුක් විඳින හැටි, අඬන හැටි අපට දැන් පේනවා. ළමයින්ට වේදනාව දැනිල ඇඹරෙන හැටි, විලාප දෙන හැටි අපට පේනවා. ළමයි කුඩා කාලයේ හෝදන කොට, නාවන කොට කොච්චර නම් අඬනවද? ඒ ඇයි? සැප ලැබිලද? මදුරුවො, මකුණො කාල රතු පාට පළු මතු වෙනවා. ඉතින් අඬනවට වැඩිය මොනව කරන්නද? අතපය හොලවනවා පෙරළෙන්නවත් බෑ. අපට විනාඩි දහයක් මදුරුවො, මකුණො කන්දි නිහඬව බලාගෙන ඉන්න සිද්ධ වුනා නම් ඒ ටිකට කොච්චර අමාරුද? දරුවන්ට අමාරු දැනෙන කොට, අතට ගන්නකල් අඬන්නෙ වෙන කරන්න දෙයක් නැති නිසා. තනියෙන් දමල ගියත් හීතලට, බයට කෑ ගහනවා.**

ඔය ඇස, කන, දිව, නාසය, ශරීරය කියන මේ සියල්ල එකට අරගෙනයි කය කිව්වෙ. කුඩා කාලයේ අවුරුදු කීයක් නම් ඔත්පල වෙලා වගේ තමන්ගෙ කටයුතු කර ගන්න බැරිව මළ මුත්‍ර ගොඩේ වැටිල ඉන්න ඇත්ද? අනුන්ගෙ පිළිසරණ බලාපොරොත්තුවෙන් කොච්චර කල් ඉන්න ඇත්ද?

ඊට පස්සෙ අවුරුදු කීයක් නම් පිස්සෙක් වගේ දුවනවද වැටෙනවද? සර්පයො, ගින්න, උණු වතුර කියන මේ වගේ අනතුරුවලින් එන කරදර හඳුනන්නෙ නෑ. අනුන්ගෙ රැකවරණයට කොටු වෙලා හිතන නිදහස පවා නැතිව අවුරුදු කීයක් නම් ඉන්නවද? එච්චර කාලෙකට කොච්චර සුවඳ ගැල්වුවත් එක හෝ සුවඳ දෙයක්වත් ශරීරය පිට කරල තියෙනවද? උදේ සුද්ද කරල තිව්ව නම් හවස් වෙන කොට පිළී ගඳ ගහනවා.

වරුවක් මේ කය පෝෂණය නොකළ නම් එන දාහය කොච්චරද? පැය පහක් නිකං හිටිය නම් පිපාසය, බඩගින්න ගිනි දෙනවා. දුක විඳ ගන්න බැරි වෙන කොට සීනි බෝලයක් දෙනව වගේ තාවකාලිකව මොනව හරි දෙනවා. ඒත් ඒක ඒ දාහය නිවන්න පැයකටවත් මදි. අවුරුදු අසූවක් ජීවත් වෙනව නම් අසූ අවුරුද්දම එහෙමයි. අවුරුදු හත අටක් යනකල් මළ පහ කළත් තනියෙන් හෝදගන්න බෑ. තනියෙන් ගමනක් යන්න බයයි. අනුන්ගෙ දූෂණ අතවරවලට ගොදුරු වෙන්න බොහෝ ඉඩ තියෙනවා. කාමාතුරයන්ට, වහල් බවට බිලි වෙන්න හෝ එබඳු දේකට ගොදුරු වෙන්න හෝ ඉඩ තියෙනවා. සටන් කරල ජය ගන්න හෝ දුවල බේරෙන්න හෝ උපක්‍රම යොදල බේරෙන්න හෝ තේරෙන්නෙ නෑ. ඒකට ශක්තියක් නෑ. අවුරුද්දකදි දෙකකදි බඩ දූවිල්ල හැදුණු වාර, නොයෙක් දවස්වල බඩගිනි වෙලා මහ දුක් ඉවසපු වාර, ලෙඩ වෙලා දුක් විඳපු, වේදනා විඳපු වාර කොච්චර ඇත්ද?

අපි ආහාර ගන්නවා. රසට කෑම ගන්නවා. නමුත් ආහාරයේ රස, සුවඳ, පිරිසිදු ගතිය තියෙන්නෙ කට ඇතුළට දාගන්නකල් විතරයි. රස බලන්න හපන කොටම රස ඉවරයි, සුවඳ ඉවරයි. ඊට පස්සෙ ජරාවක් බවට පත් වෙනවා. හපල ගිලපු ගමන් තවත් ජරා ගොඩකට වැටෙනවා. කලින්ටත් වඩා ජරා වෙනවා. දවසක් යන කොට සුවඳ වෙනුවට ලැබෙන්නෙ අධික ගඳ. ඊට පස්සෙ ප්‍රණීත බව වෙනුවට අධික පිළිකුල. රස බලනවා වෙනුවට නාහෙන් වහගෙන දුටු තැන කෙළ ගහනවා.

රස ධාතුව කියල ශරීරයට උරා ගත්ත කොටස කෙස්, ලොම්, නියපොතු, දත්, සම්, මස්, ඇට, නහර, ඇට මිදුළු, වකුගඩු... ආදී කොටස් 32 ක් නිපදවනවා. මේවා අරගෙන දවසක් පැත්තකින් තිව්ව නම් සියල්ලම මහා ගඳ ගහන අප්‍රිය දේවල්ම වෙනවා. මේ කොටස්වල ගැවසිලා ඒවායින් පිටවන කොටස තෙල් කුණු, මළමුත්‍ර, සෙම, සැරව, කෙළ, සොටු... ආදී ජරා කොටස් විදිහට පිට වෙනවා. එක දවසක් පිරිසිදු නොකළ නම් හැමතැනම දුගඳ හමනවා. සුවඳට රසට කෑවත්, දුගඳට පිළිකුලට හැම අතින්ම පිට වෙනවා. ඒ නිසා දවසකට හතර පස් වතාවක් හෝදන්න ඕන. පිරිසිදු ඇඳුමක් ඇඟට දැවටුව නම් දහඩිය තෙල් කුණු වශයෙන් ජරා වෙලා කිළිටි වෙනවා. පිරිසිදු ඇඳුම කුණු ජරා කරනව මිසක්, ජරා කරපු ඇඳුම මේවායින් පිරිසිදු කරන දවසක් නම් නෑ. හැම තිස්සෙම නානා ප්‍රකාර රෝගාබාධ. අපි නොහිතුවට, ඒ ගැන නොදන්නව වගේ හිටියට, මේ කය රඳව ගන්න හුස්ම ගැනීම පවා කරන්නෙ වේදනාව නැති කර ගන්න ප්‍රතිකර්ම වශයෙන්. හුස්ම උඩට අරගෙන තත්පර ගණනක්වත් පහතට නොහෙළා ඉන්න බෑ. පහතට ඇරල හුස්ම උඩට නොගෙන ඉන්නත් බෑ. පපුව වේදනා දාහ දෙන්න ගන්නවා.

ශරීරය එක පැත්තකට තියාගෙන විනාඩි ගණනකට වඩා ඉන්න බෑ. වේදනාව රත්වීම දෙනවා. අතපය හිරි වැටෙනවා, කහනවා, නළියනවා, ඇඹරෙනවා. ඒ නිසාම ඉරියව් මාරු කරලමයි ඉන්න ඕන. සැප ගන්න කියල ආසනයක වාඩි වෙනවා. ඒත් ඒ විදිහට දිගටම හිටියොත්, සුවයි කියල ඉඳ ගත්ත, පහස විඳින්න කියල ඉඳගත්ත ඉරියව්වම මහා දුක වේදනාව දෙන ඉරියව්වක් බවට පත් වෙනවා. කහනවා, නළියනවා. ඒ මොකද අපි හිතාගෙන ඉන්නෙ මේ ශරීරය අපේ කියල. ඒ වුණාට ක්ෂුද්‍ර ජීවීන් හිතන්නෙ මේක උන් ජීවත් වෙන ලෝකය කියල. උන් මේ ශරීරය කනවා, ඒකෙ පහරනවා, ජාතිය බෝ කරනවා, බිත්තර / පැටව් දානවා. අපි මේ ශරීරය අපේ කියල උන් එක්ක හැමදාම මහා සටනක යෙදිල ඒ කුඩා ජීවීන් සමග යුද්ධයක් කරනවා. ඉවරයක් නැති යුද්ධයක්. හිසේ ඉඳන් දෙපතුළ දක්වාම ඇතුළින් පිටින් ඇට නහර තුළ හැම තැනම මහා ආක්‍රමණයක යෙදිල ඉන්න ක්ෂුද්‍ර ජීවී හමුදාවක් සමග තනිවම මහා සටනක් කරනවා. බොහෝ විට තනිව කරන සටනින් පරාජය වෙනකොට පිටින් හමුදාව යවනව වගේ නිතරම බෙහෙත් දෙනවා. කොච්චර උත්සාහ කළත් මේ සටන නවතින්නෙ නෑ. මැරෙන්න පැයක් තියා හරි උන් ජයගෙන අපිට



පරාජය බාර ගන්න වෙනවා. ඒ ඉන්න කාලෙත් අපට කය පෝෂණය කරන්න වෙනවා. ඒ සඳහා කන්න බොන්න දෙන්න වෙනවා. ඒවාට වග කියන්න, පිළිසරණ වෙන්න කවුරුවත් නෑ.

අපේ ඕනෑ එපාකම් සියල්ල අපිටම කරගන්න වුණා නම් අපිට සිද්ධ වෙන්නෙ මියයන්න. ඒ නිසා එකිනෙකාට බැගෑපත් වෙනවා. කොටසක් බෙහෙත් නිපදවනවා. අනිත් අය ඒ අයගෙ කීම්වලට යටත්වෙලා බැගෑපත් වෙලා ඒවා ඉල්ල ගන්නවා. කොච්චර නීති දැම්මත් ඒවාට යටත් වෙන්න සිද්ධ වෙනවා. තවත් කොටසක් ආහාර නිපදවනවා. අනිත් අය ඒ අයට යටත් වෙලා ඒ අයගෙ නීතියට හිස නමනවා. තවත් කොටසක් ඇඳුම් නිපදවනවා. ඒ අයගෙ නීතිවලට අනිත් අය අවනත වෙනවා. මේ විදිහට නොයෙක් ආකාරයේ සිය දහස් ගණන් අවශ්‍යතාවන් ඉටු කර ගන්න සිද්ධ වෙනවා.

අවශ්‍යතා දහසක් තිබුන නම්, තමන්ගෙන් ඉටු වෙන්නෙ බොහෝ කොටම එක කොටසයි. නවසිය අනූ නවයක් තියෙන අනිත් අවශ්‍යතාවලට අසරණ වෙලා අන්‍යයන්ට හිස නමන්න වෙනවා. මෙහෙම එකිනෙකාට එකිනෙකා සහයෝගය නැති වුනදාට, එක් කෙනෙක් වැඩ වර්ජනය කරපු දාට සියල්ලන්ම අනාථයි.

ඉතින් මේ ඉඳුරන් හය දෙනා රැක ගන්න කරන මහා වෙහෙස කොච්චර වින්දත්, ඒ අය දෙන හතුරුකම් ගැන, ගින්දර ගැන මීට පෙර අපි හිතල තිබුනෙ නෑ. උපන්දා පටන්ම මියයන තුරුත් කරගෙන යන මහා සංග්‍රාමයක සතුරන් සමග සටන් වදිමින්, නමුත් ජය ගන්න බැරි වුනාම බැගෑපත් වෙමින්, කොටින්ගෙන් බේරෙන්න වටපිට බලමින් යන මුව රැළක් වගේ, හැමතිස්සෙම වටපිට බල බලා සෝදිසි කරමින් බේරෙන්න මාර්ග සොයමින් මහා දාහයට පත්වෙලා අනන්ත දුක් විඳිනවා. කොයි මොහොතේ විනාසයක් කරදරයක් වෙයිද කියල මහත් බියකින් වාසය කරනවා. අනාගතය ගැන බිය සෝකය ඇතිව වාසය කරනවා. වර්තමානයේ බිය, තැති ගැනුම්, දුක් වේදනා, හිංසා පීඩාවලට ගොදුරු වෙමින් දහදුක් විඳිනවා. අතීතයේ සිද්ධ වෙච්ච දේවල් ගැන සෝක වෙනවා, පසු තැවෙනවා.

ඇළුම් කිරීම යම් තරමක්ද, ඉහත විනාසයන්ගේ ස්වභාවයට ඒකාන්තයෙන් ගොදුරු වෙන දේටම ඇළුම් කරන නිසා මහත් ගැටීම්, බිය, තැති ගැනුම්, දුක් දාහ, කම්පා ඒ තරමටම නැඟී සිටිනවා. පොදුවේ මේ වගේ මහා දුක් කඳක් උරුම කරගෙන හිටියත් ආස්වාදය, ප්‍රිය මධුර බව නමැති මායාවට වසඟ වෙමින් ඒ මායා ස්වභාවයෙන් නැගෙන මහා අවිද්‍යා පටලයකින් ඉහත කී ආදීනව වැහිල මුළාවට පත් වෙනවා. මුළා වෙලා ඒ මෝහාන්ධකාරයේ ගැලිල, ආදීනව නොපෙනී ආස්වාද සොයමින් දුන ගන්න, විඳින්න, රැස් කරන්න, පතන්න බලාපොරොත්තු තියාගෙන නොමියෙන ආසාවකින් ජීවත් වෙනවා. මේ ක්‍රියාවලිය තමයි හැම කෙනෙක්ම එක අත්බවයක් / ජීවිතයක් තුල සිද්ධ කරන්නෙ. ඉතින් මේ කිව්වෙ, ඒවං උපසංහරති කියන දේශනාවට අනුව උපමා සංසන්දනය කරල තමන් ළඟම ඉඳගෙන තමන්ටම වින කරන සතුරන් හඳුන ගන්න ක්‍රමයක්.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුණු දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

www.waharaka.com | www.aaryadharma.org
www.hiddendhamma.net | mp3.hiddendhamma.net
www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net
දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම
උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය,
දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව.
2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පොලොන්නරුව, දිගාමඩුල්ල, ත්‍රිකුණාමලය සහ වව්නියාව යන දිස්ත්‍රික්කවල පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි ඉහත කී දිස්ත්‍රික්කවල ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895



# නැණවත් බොදු දරුවෙක් ලොවට දායාද කරමු...

කොනෙක් බෞද්ධ වෙන්නෙ කොහොමද? සරල ප්‍රශ්නයක්. නමුත් ලැබෙන උත්තරය සරලද? ඒ ඒ කෙනාගෙ නැණ නුවණ අනුව ලැබෙන උත්තර එක එක විදිහෙ වෙන්න පුළුවන්. බොහොමයක් දෙනාගෙන් ලැබෙන පොදු උත්තරය තමයි, අම්ම තාත්ත බෞද්ධ නිසා අපිත් බෞද්ධ කියන එක. ඉතින් බෞද්ධකම එහෙම නාමමාත්‍රිකව ගන්න පුළුවන්ද? ලොව්තුරා බුදුන් වහන්සේගෙ බුද්ධත්වයට පෙර කිසිම බෞද්ධයෙක් හිටියෙ නෑ. නමුත් උන්වහන්සේගෙ බුද්ධත්වයෙන් පස්සෙ පළමු ධර්ම දේශනාවෙන් කොණ්ඩඤ්ඤ බමුණා සෝවාන් ඵලයට පත්වුනා. එතනදි තමයි ලොව්තුරා බුදුන් වහන්සේට පසුව ලෝකයේ පළමු බෞද්ධයා පහළ වුනේ. නමුත් මේ කොණ්ඩඤ්ඤ තාපසතුමා ඊට කලින් වෙන වෙන දේවල් කර කර හිටපු කෙනෙක්. ඔහු වෙනත් සාස්තෘන් වහන්සේලා උගන්වපු ක්‍රම අනුව ජීවත් වුන කෙනෙක්. බෞද්ධයෙක් වුනේ බණ අහල සෝවාන් වුනාට පස්සෙ. එතනදි තමයි නියම බෞද්ධකම කෙනෙකුට ලැබෙන්නෙ.

ඉතින් අද බෞද්ධ කියල කියාගන්න පිරිස් බෞද්ධ අය නෙවෙයි කියන අදහස මෙතනදි එන්නෙ නෑ. උපතින් බෞද්ධ පවුලක වුනාට, ධර්මාවබෝධයක් නැත්නම් ඔහු හෝ ඇය නියම බෞද්ධයෙක් හැටියට ගැනෙන්නෙ නෑ. නමුත් එදිනෙදා පන්සිල් ගන්න, පන්සලට යන, අඩු තරමෙ අවුරුද්දකට සැරයක් හෝ ලොව්තුරා බුදුන් වහන්සේ උදෙසා හෝ උන්වහන්සේ ලොවට දේශනා කොට වදාළ ධර්මය උදෙසා හෝ ඒ දහම් මග අනුගමනය කරන සංඝයා වහන්සේලා උදෙසා හෝ එක මලක් හරි පූජ කරපු කෙනෙක් ඉන්නව නම්, ඔහු හෝ ඇය කවදා හරි නියම බෞද්ධයෙක් වෙලා තමයි නවතින්නෙ. ඒ තරමටම බුද්ධ සාසනයෙන් ලැබෙන රැකවරණය බලවත්.

**ලොව්තුරා බුදුන් වහන්සේගෙන් බණ අහන්න ආපු කිසිම කෙනෙක් උපතින් බෞද්ධ අය නෙවෙයි.** තම තමන්ගෙ එක එක දෘෂ්ටිවල හිටපු අය. ඒ සියලු දෙනාම පාහේ තමන්ට මුහුණ දෙන්න සිද්ධ වෙච්ච ප්‍රශ්නයක් කතා කරන්න තමයි උන්වහන්සේ හමුවට ආවෙ. සමහරු මංමුළා වෙලා ආවා. තවත් සමහරු තර්ක කරල පරද්දන්න ආවා. තවත් සමහරු මරන්න පස්සෙන් පන්නපු අය. නමුත් අවසානයේ ඒ ආපු අය බොහෝ දෙනෙක් බෞද්ධ වෙලා තමයි නැවතුනේ. ඒ සියල්ලන්ම පාහේ බණ අහල අවසානයේ කියපු පොදු කාරණයක් තිබුනා. මේ කාරණය ත්‍රිපිටකය පුරාම බොහෝ සූත්‍රවල අවසානයේ තියෙනවා.

අභික්කන්තං භෝ ගෝතම, අභික්කන්තං භෝ ගෝතම සෙය්‍යථාපි භෝ ගෝතම, නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරේ වා තේලපජ්ජෝතං ධාරෙය්‍ය චක්ඛුමන්තෝ රූපානි දක්ඛන්තීති. ඒවමේවං භෝතා ගෝතමේන අනේක පරියායේන ධම්මෝ පකාසිතෝ. ඒසාහං භවන්තං ගෝතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛු සංඝඤ්ච. ලභෙය්‍යාහං භෝතෝ ගෝතමස්ස සන්තිකේ පබ්බජ්ජං, ලභෙය්‍යං උපසම්පදන්ති.

භවත් ගෞතමයන් වහන්ස ඉතා යහපත, භවත් ගෞතමයන් වහන්ස ඉතා යහපත, භවත් ගෞතමයන් වහන්ස, යම් සේ යටිකුරු කොට තබන ලද්දක් උඩුකුරු කරන්නේ හෝ වේද, වසා තබන ලද්දක් වැසුම් අරින්නේ හෝ වේද, මංමුළා වූවෙකුට මග කියන්නේ හෝ වේද, අන්ධකාරයෙහි හෝ ඇස් ඇත්තෝ රූප දකිත්වායි තෙල් පහනක් දරන්නේද, එපරිද්දෙන්ම භවත් ගෞතමයාණන් වහන්සේ විසින් නොයෙක් ආකාරයෙන් ධර්මය ප්‍රකාශ කරන ලදී. ඒ මම භවත් ගෞතමයන් වහන්සේ සරණ කොට යමි. ධර්මයද භික්ෂු සංඝයාද සරණ කොට යමි. මම භවත් ගෞතමයන් වහන්සේගේ සමීපයෙහි මහණකම ලබන්නෙමි. උපසම්පදාව ලබන්නෙමි.

ඉහත පාලි පාඨයයි, සිංහල තේරුමයි උපුටා ගත්තෙ මජ්ජිම නිකායේ 2 වන කාණ්ඩයේ එන මාගන්දිය සූත්‍රයෙන්. ලොව්තුරා බුදුන් වහන්සේගෙන් බණ අහන්න ආපු මාගන්දිය බමුණා, ඒ බණ අවසානයේ කරපු ප්‍රකාශයක් තමයි ඒ. මෙතනදි පැහැදිලි කාරණයක් තියෙනවා. උන්වහන්සේගෙන් බණ අහල ඒ කාරණා ටික තේරුම් අරගෙන ප්‍රකාශයක් කරනව කියන්නෙ, ඒකාන්තයෙන්ම ඒ බණ වැටහිලා අඩුම තරමෙ සෝවාන් ඵලයටවත් පත් වෙච්ච කෙනෙක්. ලොව්තුරා බුදුන් වහන්සේට කිසිම දෙයක් කිසිම

විදිහකින් හංගන්න බෑ. උන්වහන්සේ සතුව තියෙන මහා අනාවරණ ඥානයට කිසි දෙයක් වහන්න බෑ. ඒ නිසා උන්වහන්සේ ඉදිරියේ කිසි කෙනෙකුට බොරුවක් කියන්න බෑ. කියනව නම් තමන් අවබෝධ කරගත්ත දේ හරියටම සහසුද්දයෙන්ම කියන්න ඕන.

කලින් කතා කරපු ත්‍රිපිටක පාඨයේ ඒ මාගන්දිය බමුණා වැදගත් කාරණා ටිකක් කියනවා. ඒ තමයි "ඒ මම භවත් ගෞතමයන් වහන්සේ සරණ කොට යමි, ධර්මයද භික්ෂු සංඝයාද සරණ කොට යමි" කියන කාරණය. ඉතින් බුදුන්, දහම්, සඟුන් සරණ ගිය කෙනෙක් තමයි නියම බෞද්ධයා. ඒ අනුව නම් සෝවාන් මාර්ගයේ හෝ ඉන්න කෙනෙක් විය යුතුයි. එහෙම නැත්නම් ඵලයේ පිහිටපු කෙනෙක් විය යුතුයි. ඒ තමයි අඩුම තැන. එහෙම කෙනෙකුට තමයි බය නැතුව තමන් නියම බෞද්ධයෙක් කියල කියන්න පුළුවන්. නමුත් සෝවාන් මාර්ගයේවත් නැති කෙනෙක් බෞද්ධ වෙන්න බැරිද? එහෙම ප්‍රශ්නයක් කෙනෙකුට එන්න පුළුවන්. ඒ අයට ලෝක සම්මතයේ බෞද්ධ වෙන්න පුළුවන්. ඒ කිව්වෙ ලොව්තුරා බුදුන් වහන්සේ කෙරෙහි යම් කිසි භක්තියක් ගෞරවයක් තියෙන කෙනෙකුත් සම්මත බෞද්ධ කියල ගන්න පුළුවන්. ඊටත් මෙහා ඉන්න අය තමයි නමට බෞද්ධ වුනාට, අම්ම තාත්ත බෞද්ධ වුනාට, සම්මත බෞද්ධයො කියලවත් ගණන් ගන්න බැරි.

ලොව්තුරා බුදුන් වහන්සේට පොදුවේ අපි භාවිතා කරන නම් දෙකක් තියෙනවා. මේ ලිපිය කියවන පින්වතුන් ඒ නම්වලින් උන්වහන්සේ දැනටමත් අමතනවා වෙන්න පුළුවන්. එකක් තමයි අමාමෑණියන් වහන්සේ. අනෙක් නම තමයි බුදු පියාණන් වහන්සේ. ඉතින් උන්වහන්සේ මව් ගුණයෙනුත් ඉහළ, ඒ වගේම පිය ගුණයෙනුත් ඉහළ උත්තමයෙක්. ඒ ගුණය මෙලොව උපන් කිසිම මවකට හෝ පියෙකුට හෝ කිට්ටු කරන්න බැරි මහා ගුණයක්. ඉතින් උපතින් හෝ ධර්මාවබෝධයෙන් හෝ බෞද්ධයෙක් ඉන්නව නම්, ඒ උන්වහන්සේගෙ ශ්‍රාවක දරුවෙක්. (නමුත් යථාර්ථවත් නියම පුතෙක් වෙන්න නම් අරිහතුන් වහන්සේ නමක් වෙන්න ඕන.) අම්ම තාත්තගෙ ගති ගුණ අනුව හෝ ඒ සෙවණ යටතේ හෝ ඉන්න දරුවෙක් හැදෙන්නෙ, ඒ අම්ම තාත්තට අනුව. ඉතින් වයස් තරාතිරමක් නැතිව නියම බෞද්ධ දරුවෙක් වෙන්න නම්, බුදුන් වහන්සේගෙ දරුවෙක් වෙන්න නම්, ඒ ගති ගුණ අවම වශයෙන් හෝ දෙමව්පියන්ට තියෙන්න ඕන. එහෙම දෙමව්පියන්ගෙ දරුවෙක් ඒ මවුපිය සෙවනෙ හැදෙනකොට අමුතුවෙන් බෞද්ධ කියල කියන්න ඕන නෑ. ඔහු හෝ ඇය කිව්වත් නැතත් බෞද්ධ දරුවෙක් වෙනවා.

බෞද්ධ දරුවෙක් වෙන්න මූලිකම සුදුසුකම තමයි බෞද්ධ කියන, එහෙම නැත්නම් නාම මාත්‍රිකව හෝ බෞද්ධ කියන සෙවණැල්ලක් හෝ වදින තැනක ඉපදීම. එහෙම තැනක ඉපදුන කෙනෙකුට ලෝක සම්මතයේ බෞද්ධ කියන නම වැටෙනවා. හැබැයි නියම බෞද්ධ නෙවෙයි. මුලින්ම බලමු ලොව්තුරා බුදුන් වහන්සේට අනුව දරුවෙක් අම්ම කෙනෙක්ගෙ කුසට එන්නෙ කොහොමද කියල.

මහණෙනි, තුන් දෙනෙකුන්ගේ සමවධානයෙන් ගර්භාවක්‍රාන්ති (ගැබ් ගැනීම) වෙයි. මේ සත්ත්ව ලෝකයෙහි දෙමාපියෝ සන්නිපතිත වෙත්ද, (එතෙකුදු වුව) මව ඔසප් නොවූද, ගඳඹෙක් (එහි උපදනා සතෙක්) නො එළඹියේ වේද, එතෙක් ගර්භාවක්‍රාන්ති නොවන්නේය. මෙලොව දෙමාපියෝ සන්නිපතිතු වෙත්ද, මව ඔසප් වූද, (එතෙකුදු වුව) ගඳඹෙක් නො එළඹියේ වේද, එතෙකිනුදු ගර්භාවක්‍රාන්ති නොම වෙයි. මහණෙනි, යම් අවස්ථාවක දෙමාපියෝ සන්නිපතිත වෙත්ද, මවද ඔසප් වූද, ගඳඹෙක් එළඹියේත් වේද, මෙසේ තුන් දෙනෙකුන්ගේ සන්නිපාතයෙන් ගර්භාවක්‍රාන්ති වෙයි. (<u>මහාතණ්හාසංඛ සූත්‍රය</u> - මජ්ජිම නිකාය 1)

**ඉතින් ලොව්තුරා බුද්ධ දේශනාවට අනුව දරුවෙක් පිළිසිඳ ගන්න නම් කාරණා තුනක් සම්පූර්ණ වෙන්න ඕන.**

1. මවගේ පියාගේ එක්වීම
2. මව ඍතු වීම
3. ගන්ධබ්බයෙකුගේ පැමිණීම

මෙන්න මේ කාරණා තුන සම්පූර්ණ නම් සාර්ථක පිළිසිඳ ගැනීමක් වෙනවා. තුන් වෙනි කාරණය වැදගත් එකක්. ඒ ගන්ධබ්බයා මොන වගේ කෙනෙක්ද කියල තීරණය වෙන්න, ඒ මවගේ පියාගේ ඒ මොහොතේ සිතිවිලි සම්පූර්ණයෙන්ම බලපානවා. උපමාවක් කියනව නම්, බේබද්දො යන්නෙ මත්පැන් බොන තැනකට, සිල්වතුන් යන්නෙ ඒ ජාතියේ ඒ සිල්වතුන් ඉන්න තැනකට. ඉතින් ඒ ඒ පරිසරය අනුව ඒ පරිසරයට ගැලපෙන අය එකට එකතු වෙනවා. ගතියට ගතිය ආකර්ශනය වෙනවා. එතනදි ගන්ධබ්බයාගේ පැමිණීමත් එහෙමයි. ඒ වෙලාවෙ මව්පියන්ගෙ සිතිවිලි අනුව, ඒ අය වැඩියෙන්ම හිතන පතන දේ අනුව, ඒ අයගෙ ගති ගුණ අනුව තමයි ගන්ධබ්බයා තීරණය වෙන්නෙ. සසර ගනුදෙනුත් එක්ක ගැලපිලා ඒ පරිසරයට ගැලපෙන ගන්ධබ්බයෙක් තමයි ඊට පස්සෙ කුසට ඇදිල එන්නෙ.

ඉතින් අද කාලෙ වුනත් දෙමව්පියන්ගෙ ගති ගුණවලට අනුව, ඒ අය හැසිරෙන ආකාරය අනුව තමයි ඒ අයගෙ කුසට ගැලපෙන දරුවන් එන්නෙ. එහෙම නැතුව කොච්චර පැතුවත් අනේ අපිට හොඳ දරුවෙක් ලැබෙන්න කියල, දෙමව්පියන් හැසිරෙන්නෙ ඒ හොඳ කියන ගුණයට නොගැලපෙන විදිහට නම්, කුසට ඇදිල එන්නෙත් ඒ ජාතියේම අය තමයි. බෞද්ධ පොතපතට අනුව බෝසතාණන් වහන්සේ මහාමායා දේවියගෙ කුසට ආවෙ එතුමිය අටසිල් සමාදන් වෙලා හිටපු මොහොතක. එතකොට ඒ පරිසරයට ගැලපෙන උතුමෙක් තමයි ගන්ධබ්බයෙක් විදිහට ඇදිල එන්නෙ. හරියට, කුණු තියෙන තැනකට මැස්සො... ආදී ජරා සතුන් ඇදෙනව වගේම, ඉතාම පිරිසිදු තැනකට හොඳ දේවල් ඇදෙනව වගේ.

දෙමව්පියන් හැටියට ඒ පරිසරය එක පාරටම හදන්න බෑ. කාලාන්තරයක් පුරුදු පුහුණු කරන්න වෙනවා. නිතරම දස අකුසලයෙන් වෙන්වෙලා ඉන්න එක හරි වටිනවා. ඒ අනුව තමන් ගැවසෙන පරිසරය පවා වෙනස් වෙනවා. ඉතින් එහෙම තැනකට ඇදිල එන දරුවෙක් අමුතුවෙන් යහමග යවන්න ඕන කියල මහන්සි වෙන්න දෙයක් නෑ. එහෙම එන අය නුවණ තියෙන යහපත් අයමම තමයි. ඒ අය ඉතාම සුළු අවවාදයකින් පවා යහමගට ගන්න පුළුවන්. දස අකුසල් කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ ක්‍රියා. ඒකෙ අනෙක් පැත්ත දස කුසලය. ඒ කිව්වෙ අලෝභ, අද්වේශ, අමෝහ ක්‍රියා.

ඉතින් මේ බාහිර පරිසරය ගැන එදා හිටිය බෞද්ධ දෙමව්පියන් දැනුවත් වෙලා හිටියා. ඒ අය ☞

තමන්ට දරුවෙක් ඕන වුනාම වැදගත් කාරණාවකට තමයි මුල් තැන දුන්නෙ. එදා හිටපු බොහෝ බෞද්ධ දෙමව්පියන් මෙලොව පරලොව ගැන හොඳ දැනුමක් තිබුන අය. ඒ අය දනගෙන හිටියා, කුසට එන්නෙ කුසක් නැතිව බලාගෙන ඉන්න කෝටි ප්‍රකෝටි ගණන් අසරණ ගන්ධබ්බයන්ගෙන් කෙනෙක් කියල. මේ තරඟය ලේසි පහසු නෑ. ලෝකයේ තියෙන ගහමරා ගන්න පොරකන තරඟ වගේ එහෙම බලහත්කාරයෙන් කුසකට ඇතුල් වෙන්න බෑ. ඒ ගැන මීට පෙරත් මේ සඟරාවෙ විස්තර කරල තියෙනවා. (හෙළ බොදු පියුම 38, 39, 48 කලාප බලන්න.) ඒ වගේම සසර දුක ගැනත් ඒ දෙමව්පියන් හොඳට දැනගෙන හිටියා. ඒක තමයි බෞද්ධකම කිව්වෙ. තමන් සසරෙන් මිදෙනව වගේම අනුන්ටත් මිදෙන්න උදව් උපකාර කරනවා.



ඉතින් තමන්ට දරුවෙක්ගෙ අවශ්‍යතාවයට වඩා, **මෙහෙම සසර සැරිසරන ගන්ධබ්බයෙකුට සසරෙන් එතෙර වෙන්න අවස්ථාවක් අරගෙන දෙන එක ගැන තමයි හිතුවෙ. ඒක ආර්ය මෛත්‍රිය. මා මෙන්ම සියලු ලෝක සියලු සත්වයෝ නිදුක් වෙත්වා කියන මානසිකත්වය. අප්‍රමාණ සසර දුක අවබෝධ වෙච්ච බෞද්ධ දෙමව්පියන්ගෙ මූලිකම පරමාර්ථය තමයි ඒ.** ඒ අයට ලෝකෙ අල්ලන්න, ලෝකෙ එක්ක ඇලෙන්න ගැටෙන්න දරුවො හදන්න උවමනාවක් තිබුනෙ නෑ. "මම" කරගන්න "මගේ" කරගන්න නෙවෙයි දරුවො හැදුවෙ. මූලිකම පරමාර්ථය වුනේ ඒ දරුවන්ව සසරෙන් එතෙර කිරීම. ඒ දෙමව්පියන්ට දරුවන්ව සමාජයේ දොස්තර කෙනෙක්, ඉංජිනේරුවෙක් කරන්න, එහෙම නැත්නම් අද වගේ විවිධ තරඟවලින් සුපිරි තරුවක් කරන්න, එහෙම තරඟ කරල තැනක් ගන්න කිසිම උවමනාවක් තිබුනෙ නෑ. මූලිකම අවශ්‍යතාවය වුනේ, මේ කටුක සසර ගමන තමන් නවත්වන්න උත්සාහ කරනව වගේම තවත් ලෝක සත්ත්වයෙකුට ඒ අවස්ථාව උදා කරල දෙන එක.

හැබැයි අද වුනත් ලෝකය පවතින ක්‍රමයක් තියෙන නිසා, හේතු ගැලපෙන විදිහට දරුවෙක් ඉගෙන ගෙන, ඒ වගේ සමාජය පිළිගත්තු වැදගත් වෘත්තිකයෙක් වෙන්න පුළුවන්. ඒත් අර විදිහට දහමට අනුව හැදිච්ච දරුවෙක් නම්, ඒ වෘත්තියෙන් තමන්ගෙ යුතුකම් සමාජයට ඉටු කරන ගමන්ම මේ භයංකාර සසරින් එතෙර වෙන්න දහමත් අනුගමනය කරනවා. ඒ නිසා ඒ කාරණා දෙකම ඉෂ්ට සිද්ධ වෙනවා. හැබැයි මූලික අරමුණ සසරින් එතෙර වීම.

ඉතින් ඒ ජාතියේ අවශ්‍යතාවය තියෙන, හේතු වාසනා තියෙන ගන්ධබ්බයෙක් එන්න නම්, ඊට ගැලපෙන පරිසරයක් තියෙන්න ඕන. ඒ පරිසරය සකස් කරන්න එදා හිටපු දෙමව්පියන් උපක්‍රමයක් යෙදුවා. ඒ දරුවා ලබාගන්න ඕන කාල සීමාව තුල, ඒ ප්‍රාර්ථනාව පෙරදැරි කරගෙන, දෙපැත්තෙ දෙමවුපියන්ගෙ ආශිර්වාද අරගෙන ජය ශ්‍රී මහා බෝධින් වහන්සේට භාරහාර වුනා. ඒ වෙනුවෙන් නොයෙක් පිංකම් දානමාන කටයුතු කළා. බණ ඇහුවා, භාවනා කළා, පෙහෙවත් සමාදන් වුණා. පුළුවන් තරම් කුසල් කටයුතුවලමයි යෙදුනෙ. අර්ථ චරියාවෙන්, සම චරියාවෙන් තමයි කල් ගෙව්වෙ. එතකොට චරියාව විසම නෑ.

මේ සම චරියාවෙන් ගතකරපු දෙමව්පියන්ගෙ මූලික අරමුණ වුනේ නිවන් මාර්ගය. ඉතින් මෙහෙම ඉන්න දෙමව්පියන්, මේ ලෝකෙට බැඳිල තියෙන කාම වස්තු පොදි ගැසීම් තියෙනව නම් ඒක දුක් පොදි ගැසීමක් මිසක් සාරවත් දෙයක් නෙවෙයි කියල දන්නවා. ගේ දොර ඉඩ කඩම්, භාණ්ඩ, මිල මුදල් වගේම අඹු දරුවන් ආදියත් පෝෂණය කළේ හැදුවෙ වැඩුවෙ ආර්ය මාර්ගයට අනුගත වෙන විදිහට. ඉතින් **දරුවෙක් බලාපොරොත්තු වෙන නව යුවළක් මුලින්ම කළේ, සාසනයේ සංඝ රත්නයේ ආශිර්වාදය, දෙමව්පියන්ගෙ ආශිර්වාදය, වැඩිහිටි ආශිර්වාදය එක්ක ගිතෙල් මිශ්‍ර කිරිබත්, කැවුම් කෙසෙල්... ආදි කැවිලි පලතුරුවලින් සමන්විත අග්‍ර ප්‍රමුඛ කොටස තෙරුවන් උදෙසා පූජා කරල දරු සම්පත්තියකට ආශිර්වාද ගැනීම. ඊට පස්සෙ පිළිවෙලට දෙමව්පියන් ආදිය එක්ක තමන් වටේ ඉන්න දැසි දස්සන්ටත් සංග්‍රහ කරල පින්වත් දරු සම්පතක් ලැබේවා කියල අධිෂ්ඨාන කරනවා.** ඊට පස්සෙ තමයි මේ නව යුවළ දරුවෙක් බලාපොරොත්තුවෙන් එකතු වෙන්නෙ.

ඉතින් ඒ අනුව සැකසෙන මේ කුසල්වලින් පිරිච්ච පරිසරයට ඇදිල එන්නෙත් ඊට ගැළපෙන ගන්ධබ්බයෙක්. බොහෝ දුරට සසර පාරමිතා පුරන, පාරමිතා පිරිච්ච කෙනෙක් වෙන්න පුළුවන්. එහෙම නැත්නම් චුත වුන මහේශාක්‍ය දෙවි කෙනෙක් වෙන්න පුළුවන්. එහෙම අය ඉපදුනාම මහ ලොකුවට වෙර වීර්ය දරන්න ඕන නෑ යහමග යවන්න. උපතින්ම ඒ දරුවන්ට ඒ හැකියාව ලැබෙනවා.

කෙනෙකුට හිතෙන්න පුළුවන්, අපේ දරුවො දැන් ඉපදිලා ඉවරයිනෙ, ඒ අයව කොහොමද ඔය කියන විදිහට යහපත් බෞද්ධ දරුවන් කරන්නෙ කියල. ඒකටත් මූලිකම අඩිතාලම දෙමව්පියන්මයි. මුලින් දෙමව්පියන් ලෝභ, ද්වේශ, මෝහ ක්‍රියාකාරීත්වයෙන් වෙන් වෙන්න ඕන. ඊට පස්සෙ තමයි ඒ ලැබෙන මානසික ශාන්තියෙන් තමන්ගෙ දරුවන්ට යහපත් උපදෙසක් වුනත් දෙන මානසිකත්වයක් උදාවෙන්නෙ. ලෝභ ක්‍රියාවන් කියල කිව්වම, අපි යමකට දැඩිව බැඳිල ඉන්නවද, ඒක ගේ දොර, යාන වාහන, වතුපිටි, දරුවො වෙන්න පුළුවන්. එහෙම නැත්නම් තමන් නිතර බලන රූපවාහිනී වැඩසටහනක් වෙන්නත් පුළුවන්. මේ දේවල්වලට ☞

තමන් තදින් ඇලෙනවද, එහෙම නැත්නම් ඒ ඇළුන දේට විරුද්ධව යමක් ආවොත් ගැටෙනවද කියල තමන්ටම තෝරගන්න පුළුවන්. පියෙක් නම් තමන් කැමති ක්‍රීඩා තරඟයක් නරඹන මොහොතක ගෙදර වැඩකට බිරිඳ යන්න කියන වෙලාවට තරහක් එනවද, එහෙම නැත්නම් ඒ කියපු කෙනාට බැන වදින්න හිතෙනවද කියල තමන්ගෙම අත්දැකීමෙන් තෝරගන්න පුළුවන්. මුලින් දෙමව්පියන් මේ වගේ දේවල්වලින් වැළකෙන්න ඕන. ඊට පස්සෙ තමන්ගෙ අත්දැකීමෙන් දරුවන්ට උපදෙස් දෙන එක මහ ලොකු දෙයක් නෙවෙයි.

ඒ වගේම පුංචි කාලෙ ඉඳන්ම දරුවන්ට අරන් දෙන දේවල්වලිනුත් ඒ දරුවන් යහමගට ගන්න පුළුවන්. එතනදි බොහෝවිට දකින්න තියෙන දෙයක් තමයි, අද දෙමව්පියන් දරුවන්ට අරන් දෙන සෙල්ලම් බඩු. ඒවා බොහෝ දුරට සෙල්ලම් තුවක්කු, පිස්තෝල, කඩු, දුනු ඊතල, සොල්දාදුවො වගේ දේවල්. ළමයි සෙල්ලමට වුනත් කරන්නෙ ඒවායින් අනෙක් අයට වෙඩි තියන එක, කපන කොටන එක. ඒ අවස්ථාවෙදි නැගෙන මානසිකත්වය ලේසි පහසු එකක් නෙවෙයි. දරුවන්ට මේ පව්කාර ක්‍රියා නොදැනුවත්වම සාමාන්‍ය දේවල් බවට පත්වෙනවා. ඒ මුළාව හරිම භයානකයි. ඒ අයට පාපයක බරක් පතලක් තේරෙන්නෙ නෑ. එහෙම කෙරෙන පව් හරිම බරපතලයි. ඒ වගේම අද දරුවන්ට අරන් දෙන පින්තූර, කතා පොත් පවා බොහෝ කොටම ලෝක සම්මතයේ එන විවිධ සුරංගනා කතා, සිංදු. නමුත් එදා බෞද්ධ දෙමව්පියන් දරුවන්ට නිතරම පිරිත්, බණ දහම් කතා... ආදිය තමයි අහන්න දකින්න සැලැස්සුවෙ. පින්තූර වුනත් දහම් කතාවලට ගැළපෙන ඒවා. එදා කියපු දරු නැළවිලි කවි, ගීවල පවා ගැබ් වෙලා තිබුනෙ දහම් අරුත්. ඒ කවි ගීවලට දරුවන්ගෙ කන ක්‍රමයෙන් හුරු වුනා. ඊට පස්සෙ දරුවන් ලොකු වුනාම ඒ ජාතියේ කවි ගීවලටම තමයි ප්‍රියතාවයක් දක්වන්නෙ.

සෙල්ලම් බඩු වෙනුවට අරගෙන දුන්නෙත් චෛත්‍යයක්, ධර්ම චක්‍රයක්, බෝධින් වහන්සේ නමක් වගේ බෞද්ධ සංකේත. ඒවාට ගරු බුහුමන් කරන්න කියල දීල තමයි දරුවන්ට ඒවා අරගෙන දුන්නෙ. මේ වෙනස හොඳට පේනවා වෙසක් කාලෙට එන වෙස් මුහුණුවලින්. එදා අපි පොඩි කාලෙ වෙසක් එකට දාපු වෙස් මුහුණු බොහෝ දුරට රජවරු, සිටුවරු සංකේතවත් කරන, එහෙම නැත්නම් ඉතාම සරල දේවල්. ඒවායේ යම් කිසි දහම් අර්ථයක් තිබුනා. නමුත් අද වෙසක් එකට තියෙන වෙස් මුහුණු දැක්කම සමාජය කොච්චර පිරිහිලාද කියල වෙනස හොඳට පේනවා. ඒවා දහම් අර්ථයන්ට වඩා විනෝදය සපයන ඒවා බවට පත් වෙලා තියෙනවා. හැබැයි උපක්‍රමයක් හැටියට දරුවන් යහමගට ගන්න මේ වගේ විවිධ ක්‍රමවේද හඳුන්වල දෙන්න තවමත් පරක්කු නෑ.

ඉතින් ඒවත් එක්කම දරුවන්ට සුළු අභ්‍යාසයක් දෙන්න පුළුවන්. ඒ අයට කියන්න පුළුවන්, පුතේ මෙන්න මේ පොතේ අද දවසෙ ඔයා කරපු කියපු දේවල් ලියන්න කියල. ඒ කිව්වෙ, කෙනෙක් යමක් ඉල්ලුවම දෙන්න හිතුනෙ නැත්ද, ඒ වගේම කෙනෙක් නිසා තරහක් ආවද, මෝඩ වැඩක් කරන්න හිතුනද, කෙනෙකුට උදව්වක් කරන්න හිතුනද, සතෙකුට කන්න දෙන්න හිතුනද... මේවා ක්‍රියාකාරකම් විදිහට මුලින්ම පොතක ලියන්න කියන්න පුළුවන්. කෙනෙකුට යමක් දෙන්න හිතුනෙ නැත්නම්, කෙනෙක්ගෙ දේවල් ගන්න හිතුන නම් ඒක අයිති වෙන්නෙ ලෝභයට. ඒක දරුවන්ට තේරුම් කරල දෙන්න පුළුවන්. තරහ ගියා නම් ඒක අයිති වෙන්නෙ ද්වේශයට. ඒ වගේම මෝඩකමක් කරන්න හිතුන නම් ඒක අයිති වෙන්න මෝහයට. දරුවන්ට ඔය වගේ සරලව ඒවායේ තියෙන භයානකකම පහදල දෙන්න පුළුවන්. ඒ අනුව ඒ අයව වළක්ව ගන්න ලේසියි. ක්‍රමයෙන් ඒ වගේ දේවල් ලියන ප්‍රමාණය අඩු වෙනකොට මේ දරුවන් යහමග යනව කියල තේරුම් ගන්න පුළුවන්.

ඒ වගේම මෙහෙමත් කියල දෙන්න පුළුවන්. යමක් කරන්න කලින් හොඳට හිතන්න ඒකෙන් තමන්ට අවැඩක් වෙනවද කියල. එහෙම නම් ඒ වැඩේ නොකර ඉන්න. ඊට පස්සෙ කියල දෙනවා, ඒ කරන්න යන වැඩෙන් අනුන්ට අවැඩක් වෙනවද කියල. එහෙම නම් ඒ වැඩෙත් නොකර ඉන්න. අන්තිමට ඒ කරන්න යන වැඩෙන් තමන්ටත් අනුන්ටත් දෙගොල්ලන්ටම අවැඩක් වෙනවද, ඒකත් නොකර ඉන්න. **කරන්න යන වැඩෙන් තමන්ටත් අනුන්ටත් දෙගොල්ලන්ටම යහපතක් වෙනව නම්, අන්න ඒ වැඩේ කරන්න කියල දරුවන්ට කියල දෙන්න පුළුවන්.**

මේ ක්‍රමය හරිම සාර්ථක ක්‍රමයක්. සියළුම පව් කරන්න එපා කියල කියනවට වඩා මේ ක්‍රමය ලේසියි. මේ ක්‍රමයෙන් දරුවන් කරන්න යන ඕනම පාපයකින් වැළකෙනවා. එහෙම වැළකුනා කියන්නෙ, ඒ දරුවො නිකම්ම දස අකුසලයෙනුත් වෙන් වුනා කියන එක.

ඉතින් මේ තත්ත්වයට දරුවෙක් ගේන එක ලේසි පහසු වැඩක් නෙවෙයි. ඒකට ප්‍රධාන හේතුවක් තියෙනවා. ඒ හේතුව තමයි දැනටමත් ඒ දරුවන් යොමුවෙලා තියෙන දේවල්. එකපාරටම හොඳ නරක කියල දෙන්න බෑ. කුණු රෙද්දක් සායම් දාල පාට කරන්න බෑ වගේ තමයි, එක එක දේවල්වලට යොමු වෙලා ඉන්න ළමයි එක පාරටම ඒවායෙන් වෙන් කරල යහමගට ගන්න බෑ. මුලින් ඒ කුණු රෙදි කැල්ල අපුල්ලල හෝදල ඉන්න ඕන, ඒ කුණු ටික යවන්න ඕන. ඊට පස්සෙ තමයි ඒ පිරිසිදු වෙච්ච රෙදි කැල්ලට ඕනම පාට සායමක් අල්ලන්නෙ. ඉතින් ඒ වගේ මේ දරුවන් යොමු වෙලා ඉන්න නරක දේවල් තියෙනව නම්, ඒ දේවල්වල ඵල විපාක කියල මුලින් නවත්තල ඉන්න ඕන. ඒ නරක දේවල් පෙන්වල දීල මුලින් ඒවා නොකර ඉන්න තැනට ගේන්න ඕන. ඊට පස්සෙ තමයි ඒ මනසට ඊළඟට කරන්න ඕන දේ කියන්න පුළුවන් වෙන්නෙ. එක පාරටම ඔය විකාර සෙල්ලම්වලට යන එක නතර කරල මේ බණ ටික අහපන් කිව්වොත් කොහෙත්ම කරන්නෙ නෑ. මුලින් ඔය විකාර සෙල්ලම්වලට යන එක නතර කරන්න ඕන. මෙතනදි සෙල්ලම් කියල අදහස් කළේ, කුඩා ළමයි එදිනෙදා කරන සෙල්ලම් නෙවෙයි. **සෙළු ළමා වැඩ තමයි සෙල්ලම් කියන්නෙ.**

අපි දැකල තියෙනවා පොඩි ළමයි. අවුරුද්දෙ දෙකේ පොඩි ළමයි ගැනයි මේ කියන්නෙ. ගැහැණු පිරිමි භේදයකින් තොරව මේ පොඩි අයට ඇඟේ ඇඳුමක් තියෙනවද නැත්ද කියලවත් ගානක් නෑ. හෙලුවෙන් ඉන්න හරි කැමතියි. කිසිම ලැජ්ජාවක් බයක් තේරෙන්නෙ නෑ. අපිත් ඉතින් ඒවා ගණන් ගන්නෙ නෑ, මේවා හෙලු ළමා වැඩනෙ කියල නිකං හිනාවෙලා ඉන්නවා. මොකද ඒකෙ කිසි වැදගත්කමක් නැති නිසා. ඔය සෙල්ලම් වුනත් අර පොඩි ළමයින්ගෙ හෙලු ළමා වැඩ වගේ කිසිම හරයක් නෑ. ලැජ්ජ බය ඇතිවෙන

කාලයට මේක අතහැරෙනවා වගේ, ඒ ළමයි කරන හරයක් නැති වැඩ ගැන පහදල දුන්නම, ලැජ්ජාව නිසා අතහැරල යහමගට වැටෙනවා. අර කතාවක් තියෙනවා, නියපොත්තෙත් කඩන්න පුළුවන් දේ පොරවෙන් කපන කල් ඉන්න එපා කියල. ඒ වගේ තමයි මේ ළමයි කුඩා කාලයේම ප්‍රයෝග සම්පත්තියෙන් යහමගට යොමු කරගන්න පුළුවන් වගේම, ප්‍රයෝග විපත්තිය නිසා නරක මගට වැටෙන්නත් පුළුවන්. ලෝක සම්මත තේරුම ගත්තත්, ගහ කුඩා කාලයේ, ඒ කියන්නෙ පුංචි පැළයක් විදිහට තියෙන කාලෙ නියපොත්තෙන් වුනත් කඩන්න පුළුවන්. නමුත් ගහ මහ විසාල වුනාම ලොකු මහන්සියක් ගන්න ඕන කපල දාන්න. ළමයින්ගෙ සිතිවිලිත් ඒ වගේ මුල් කාලෙම ප්‍රයෝග සම්පත්තිය යොදල යහමගට ගත්තට පස්සෙ අමුතුවෙන් කරන්න දෙයක් නෑ.

මුලින්ම කුඩා ළමයෙක් යම් දෙයක් හිතට ගන්නෙ, තමන්ට ඇහැට පෙනෙන දේවල්වලින් වගේම තමන්ට කනට ඇහෙන දේවල්වලින්. මේ ඇහෙන් කනෙන් ගන්න දේවල් ටික ටික මනස තුල වැඩෙන්න පටන් ගන්නවා. මේ වැඩීම කොච්චරද කියනව නම්, ඒ දේවල් ලබාගන්න තරග කරනවා, පොර කනවා. ඉතින් මේ පොර කෑම වෙන් කරගන්න ඕන. පොරවෙන් කරගන්න කිව්වෙ ඒකයි. පොර කන එක වෙන් කරගත්ත ගමන් හිතේ තරඟයක් නැති වුනාම යහමගට වැටෙනවා. ඒ ළමයි ඇහෙන් දකින දේයි, කනට ඇහෙන දේයි ප්‍රයෝග සම්පත්තියෙන් පාලනය කළාමයි මේ කියන විදිහට පොරොවෙන් කරන වැඩේ කරගත්ත වෙන්නෙ. ඉතින් මේ විදිහට හිත නරකට යොමු වෙන එක නතර කළාමයි ඒ ළමයින්ට හොඳ පෙන්වන්න පුළුවන් වෙන්නෙ. ඊට පස්සෙ මේ දරුවන් දස කුසලයට යොමු කරන්න පුළුවන්.

දස අකුසලයෙන් වෙන් වුන දරුවෙක්ව දෙවියන් පවා රකිනවා, ටිකෙන් ටික ඉබේම බෞද්ධ දරුවෙක් බවට පත්වෙනවා. එහෙම දරුවො රටට ලෝකයටම යහපතක්. ඒ වගේම මෙලොව පරලොව සියල්ලන්ටම යහපතක් ශාන්තියක් වෙනවා.

ඒ වගේම මේ ක්‍රමයේ තවත් පැත්තක් තියෙනවා. මේක සිංහල බෞද්ධ කියන උපතින් එන අයට විතරක් පොදු දෙයක් නෙවෙයි. හරියට දිය ඇල්ලකින්, පහත් බිම් ප්‍රදේශ සහ අතු ගංගා පෝෂණය වෙනව වගේම, ඒ දිය ඇල්ලට විස වැටුනොත් පහත් බිම් ප්‍රදේශ සේරම විනාස වෙලා යන්න පුළුවන්, අතු ගංගාවලින් පෝෂණය වෙන ප්‍රදේශ විනාස වෙන්න පුළුවන්, ඒවායේ ජීවත් වෙන සත්තු විනාස වෙන්න පුළුවන්. මේ දිය ඇල්ල දෙමව්පියන්ට උපමා කළොත්, පහත් බිම් ප්‍රදේශ සහ අතු ගංගා දරුවන්ට උපමා කරන්න පුළුවන්. දෙමව්පියන් දස අකුසලයෙන් වෙන්වෙලා සද් දහම අවබෝධ කරගත්ත අය නම්, දරුවන්ව ඒ මගට ගන්න පුළුවන්. ඉතින් මේකට අර උපතින් සිංහල බෞද්ධ කියන ලේබලයම අවශ්‍ය නෑ. අවශ්‍ය වෙන්නෙ මනා දහම් අවබෝධය. මේ දහම් අවබෝධය නියම කළ්‍යාණ මිත්‍රයෙක්ගෙ ඇසුරෙන් ලබාගන්න පුළුවන්. ඒකට ජාති, කුල, මල භේද කිසිම දෙයක් අදාළ වෙන්නෙ නෑ.

ලොව්තුරා බුදුන් වහන්සේ බුද්ධත්වයට පෙර දැක්ක නිමිතිවලින් එකක් තමයි, සතර දිසාවෙන් පියඹගෙන එන පාට පාට කුරුල්ලන් උන්වහන්සේ පාමුල සුදු පාටට හැරිල පාමුල වහනවා. ඒකෙ අර්ථය බැලුවම උන්වහන්සේ දැක්කෙ, සතර දිසාවෙ ඉන්න එක එක ජාතියේ ආගම්, දෘෂ්ටි තියෙන අය උන්වහන්සේගෙ ධර්මය අහල සියල්ලන්ම බෞද්ධ ශ්‍රාවකයන් බවට පත්වෙන බව. ඉතින් **මේ කියන නියම දහම් අවබෝධය ලබන්න ලෝක සම්මතයේ සිංහල, දෙමළ, මුස්ලිම් කියන ජාති භේදයක් නෑ. අවශ්‍ය වෙන්නෙ නියම කළ්‍යාණ මිත්‍ර ඇසුරයි, ඒ කියන දහම් තේරුම් ගන්න ඕන නුවණයි.** එහෙම දෙමව්පියන්ගෙ දරුවො මොන මති මතාන්තර දරල, මොන ජාති ආගම්වල හිටියත් නියම බෞද්ධ දරුවන් හැටියට පත් කරන්න මහ ලොකු වෙහෙසක් ගන්න ඕන නෑ.

ඉතින් මේ වගේ දරුවො නිසා මෙලොව පරලොව සියල්ලන්ටම සෙතක් ශාන්තියක් වෙනව කිව්වම කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ දරුවන් කොහොමද දෙමව්පියන්ගෙ පරලොවට යහපතක් වෙන්නෙ කියල. ඒක සිද්ධ වෙන විදිහක් තියෙනවා. මෙහෙම බෞද්ධ පරිසරයක හැදෙන දරුවන් තමන්ගෙ යහපත වගේම අනුන්ගෙ යහපතත් හිතනවා. එහෙම දරුවෙක් පිනක් දහමක් කරගන්න යනකොට අනෙක් අයවත් සහභාගි කරගන්නවා. ඒකට හේතුව තමයි, ඒ පින් දහම්වලින් ලැබෙන ප්‍රතිඵල ගැන දැන ගන්න තරමට නුවණ මුහුකුරා යෑම. බුද්ධ දේශනාවෙ මෙහෙම දෙයක් තියෙනවා. "ඒ ප්‍රේත ලෝකයෙහි සී සෑමෙක් නැත්තේය. ගව පාලනයක් එහි නැත්තේය. (සම්පත් ලැබීමට හේතු වූ) එබඳු වෙළඳාමකුත් නැත්තේය. රන් රිදියෙන් කරන ගනුදෙනුවක්ද නැත්තේය. (හුදෙක්) මැරී ඒ ප්‍රේත විෂයට පැමිණියෝ මේ මිනිස් ලොව වසන නෑ මිතුරන් විසින් දෙන ලද දෙයකින් යැපෙත්" (<u>තිරෝකුඩ්ඩ සූත්‍රය</u> - ඛුද්දක නිකාය (1), ඛුද්දක පාඨ පාළි - 15 පිටුව)

ඉතින් මෙහෙම දරුවන් නිසා, මියපරලොව ගිය අයටත් සෙතක්ම තමයි වෙන්නෙ. මොකද ඒ අය මිය පරලොව ගිය තමන්ගෙ දෙමව්පියන් ඇතුළු සතර වරිගයේ ඥාතීන්ට දානමාන, පිංපෙත් දීල අනුමෝදන් කරල තමන්ගෙ යුතුකම් ඉටු කරනවා. මේ විදිහට දස අකුසලයෙන් වෙන් වුන දරුවන් සමාජයට යන්නෙ සත්පුරුෂයන් හැටියට. ලොව්තුරා බුද්ධත්වයට පත්වෙන්න කලින් හිටපු ජාතියට හේතු හොයපු බෝසතාණන් වහන්සේ, පටිච්ච සමුප්පාද ධර්මය ප්‍රතිලෝමව මෙනෙහි කරගෙන ගියා. එහෙම යත්දි නැවතුනේ අවිද්‍යාව කියන තැන. නමුත් උන්වහන්සේ එතනින් නැවතුනේ නෑ. මේ අවිද්‍යාවටත් හේතුවක් තියෙනවද කියල බැලුවා. ඒකට හේතුව හැටියට උන්වහන්සේට ලැබුනෙ අසත්පුරුෂ ඇසුර. ඉතින් ඒ නිසා මෙහෙම දස අකුසලයෙන් වෙන් වුන සත්පුරුෂ දරුවන්, ඒ අයව ඇසුරු කරන අයටත් වාසනාවක්. නියමිත වයස ඇවිත් කවදහරි දවසක නිවන් දකින බණක් දහමක් අහන්න ලැබිච්ච වෙලාවක ඒ වගේ දරුවන් තීරණයක් ගන්නවා, මේ සසර ගමන කෙළවර කරගන්න තැනට කටයුතු කරනවා, ඒ සද් දහම ලෝකයට පතුරවන්න කටයුතු කරනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

**අභයරතනාලංකාරය - 71**

# අසිරිමත් ආදාහනයක පෙනුනු නොපෙනුනු දෑ...



- වහරක අභයරතනාලංකාර හිමි

ලෝකයට පහළ වූ අති විශේෂ උත්තමයින්ගේ ආදාහන පූජෝත්සවවල විස්මයජනක අසිරිමත් දෑ සිද්ධ වෙලා තියෙන බව විශේෂයෙන් බෞද්ධ සාසන ඉතිහාසයේ එන කතාවලින් පැහැදිලි වෙනවා. ඒ අතරින් ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකගේ පිරිනිවන් පෑමෙන් පසු සිද්ධ වෙන ආදාහන පූජෝත්සවය අති විශේෂයි. පෙනෙන නොපෙනෙන ලෝකවල මනුස්සයින් ඇතුළු දෙව් බඹුන්ගේ සහභාගීත්වයෙන් සිද්ධ වෙන ඒ වගේ ආදාහන පූජෝත්සවයක, ආරම්භයේ පටන් ධාතූන් වහන්සේලා බෙදා දෙන අවස්ථාව දක්වා පියවි ඇසටම පේන්න සිද්ධ වෙන අසිරිමත් දෑ ගැන විස්තර මහා පරිනිබ්බාන සූත්‍රයේ සඳහන් වෙනවා. ඊළඟට පසේ බුදුවරයන් වහන්සේලාගේත්, අසූ මහ ශ්‍රාවකයින් ඇතුළු රහතන් වහන්සේලාගේත් ආදාහන පූජෝත්සවවල විශේෂ සිදුවීම් ඕන තරම් සඳහන් වෙනවා.

මීට අවුරුදු 1,000 - 1,500 කට පමණ පෙර වැඩ සිටි සිවුපිළිසිඹියාපත් අභිඥාලාභී මහ රහතන් වහන්සේ නමක් වූ මලියදේව මහ රහතන් වහන්සේගේ පිරිනිවීමෙන් පසු සිද්ධ වූ විශේෂ සිදුවීම් පවා ඉතිහාසයේ සඳහන් වෙනවා. උන්වහන්සේගේ ශ්‍රී දෙණ අධිෂ්ඨානයක් පරිදි අහසින් වැඩම කර, පින්වතුන් විසින් ඒ දෙණ බාර ගත් ස්ථානය දෙණගමුව නමින් ප්‍රකට වූ බවත් ඒ කතාවල සඳහන්. පොල්ගහවෙල ප්‍රදේශයේ ඇති දෙණගමුව නම් ගමත්, දෙණගමුව රජමහා විහාරයත් ඒ සිද්ධියට සම්බන්ධ බව අදටත් ප්‍රකටයි.

ඉතිහාසයේ ඒ වගේ කාල වකවානු තිබුනත්, අද වෙනකොට ඒ වගේ සිද්ධි අහන්නත් නොලැබෙන තරම්. මොකද දහම යට ගිහින් අරිහතුන් වහන්සේලාගේ පහළ වීම ඉතා දුර්ලභ කාලයක් තමයි උදා වෙලා තිබුනෙ. නමුත් ඒ අතරත් ඉතාම කලාතුරකින් සිද්ධ වූ ඒ වගේ උත්තමයාණන් වහන්සේලාගේ ආදාහන කටයුතු ගැන බුරුම රටෙන් අහන්න ලැබෙනවා. ජන මාධ්‍යවලින් ප්‍රසිද්ධ නොවුනත්, ලංකාවෙත් පසුකාලීනව අති දුර්ලභව සිදු වූ ඒ වගේ අවස්ථා නැත්තෙ නෑ. සමහරවිට මස් ලේ ඇහැට නොපෙනුනත්, ගුප්තව සමාධියට හසුවන ඒ වගේ දේවල් සිද්ධ වූ අවස්ථා තියෙන්න පුළුවන්. ඒත් යම් කිසි සමාධි බලයක් තියෙන කෙනෙකුට තමයි ඒ වගේ දෙයක් දකල ප්‍රකාශ කරන්න පුළුවන් වෙන්නෙ. ඉතින් ඒ වගේ අයත් හිඟ කාලයක් තිබුන නිසා ඒ ගැන මෑත කාලයේ අහන්න ලැබුනෙ නෑ.

අභයරතනාලංකාර හාමුදුරුවො කියන්නෙ මොන වගේ උත්තමයෙක්ද කියල හරියටම දැනගෙන හිටියෙ, විශේෂයෙන් උන්වහන්සේ විසින් නැවත මතු කළ දහමට අනුකූලව බණ පදයක් හරි අහන්න ලැබිච්ච පින්වතුන් විතරයි. ඒ මතු කළ දහම අති විශේෂයි කියල ඒ දහම් දේශනාවකට සහභාගි වෙලා දහම් අවබෝධ කරගත්ත පින්වතුන්ට අමුතුවෙන් කියන්න ඕන නෑ. එතකොට ඒ වගේ දහමක් නැවත මතු කළ ඒ උත්තමයත් අති විශේෂයි කියල කාගෙන්වත් අහල දැනගන්න අවශ්‍ය නෑ. නමුත් ඒ මතු කළ දහමටත් උන්වහන්සේටත් පහර ගහපු අවලාද නගපු පිරිස් පවා ඕන තරම් හිටියා. සමහරු පහර ගැහුවෙ නැතත්, ඒ දහම හෝ උන්වහන්සේ හෝ විශේෂයි කියල පිළිගත්තෙ නෑ. ඒක ඉතින් එදත් අදත් ලෝකයේ හැටි. මොකද ලෝක සත්ත්වයෝ නොයෙක් දෘෂ්ටිවල ඉන්නෙ. ඒ නිසා හැමෝගෙම සිත් එක වගේ නෑ. අනික එහෙම පිළිගන්නත් ඒකටත් හේතු වාසනා තියෙන්න ඕන.

කොහොම හරි උන්වහන්සේ මේ භෞතික කය අතහැරිය මොහොතේ පටන් ආදාහන පූජෝත්සවය දක්වා ඒ දේහයේ දකින්න තිබිච්ච සුවිශේෂීය ලක්ෂණ මීට පෙර මේ සඟරාවෙන් හෙළිදරව් කළා. සාමාන්‍ය අය විතරක් නෙවෙයි, වෛද්‍ය විද්‍යාව පිළිබඳ විශේෂ දැනුමක් තිබිච්ච අය පවා ඒ කාරණා විශේෂ බව පිළිගත්තා. ඒ වගේම පිළි නොගත්ත පිරිසක් හිටියත්, ඒ අයට ඒකට හේතු ඉදිරිපත් කරන්න බැරි වුනා. උන්වහන්සේගෙ ආදාහනයෙන් මාස 3 - 4 කට පමණ පසු විශේෂයෙන් පරිවර්තනය වූ ධාතූන් වහන්සේලාගේ පින්තූර පවා මේ සඟරාවෙන් ඉදිරිපත් කළා. සාමාන්‍ය දැනීමක් තියෙන පින්වතුන්ට පවා, ඒ අරිහත් උත්තමයන් වහන්සේ නමකගෙ ධාතූන් වහන්සේලා කියල හඳුනගන්න ඒ සාක්ෂි හොඳටම ප්‍රමාණවත්. ඒ වගේ අය ඒ ගැන සැක සංකා මතු කළේ නෑ. ඊට පෙර ඒ ගැන විස්වාසයක් නොතිබිච්ච පින්වතුන් පවා, ඒ ධාතූන් වහන්සේලාගේ දර්ශනවලින් පසු උන්වහන්සේ විශේෂ උත්තමයෙක් කියල පිළිගත්තා. ඒ ගැන ශ්‍රද්ධාවක් භක්තියක් ඇති කරගත්තා. ඒත් තවමත් ඒ ගැන නොපිළිගන්න අය ඕන තරම් ඇති. ඒ ගැන ගැටළුවක් නෑ. නමුත් පිළිගත්තත් නැතත්, ඒ කරුණු නොසඟවා ලෝකයා හමුවේ ඉදිරිපත් කිරීම අපේ යුතුකමක්. මොකද මේ වගේ විශේෂ සිදුවීම් මතු පරපුරට දැනගැනීම සඳහාත් ඉතිහාසයේ කවද හරි සටහන් වෙන්න ඕන.

ඉතින් උන්වහන්සේගෙ ආදාහනය දවසේ සිද්ධ වෙච්ච තවත් අසිරිමත් දෑ තිබුනා. ඒ සමහරක් සිද්ධි ඇස් දෙකටම දැකපු පින්වතුන් හිටියා. හැබැයි බොහොමයක් සිද්ධි ඇස් දෙකටම දැක බලාගන්න නොලැබිච්ච, යම් යම් සමාධි මට්ටම් වඩපු පින්වතුන්ට දැක

බලාගන්න ලැබිච්ච සිද්ධි. ඒ නිසා ඒවා භෞතිකව ඔප්පු කරන්න බැරි වුනත්, ඒ ගැන නැණ නුවණින් සහ ශ්‍රද්ධාවෙන් පිළිගන්න පින්වතුන් ඉන්න නිසාත්, ඒ හැමෝගෙම දැන ගැනීම සඳහාත්, මේ වගේ විශේෂ සිදුවීම් මේ ලෝකයේ පෙනෙන නොපෙනෙන ආකාරවලින් සිද්ධ වෙන බව පෙන්වීම සඳහාත් ඒ අත්දැකීම් මේ විදිහට සටහන් කරනවා.

උන්වහන්සේගෙ ආදාහනය සිදු වූ 2017.02.15 වන දින තමන්ගෙ ඇස් දෙකින්ම දැකපු සිද්ධියක් පිළිබඳ අත්දැකීම් කඩුවෙල, බෝමිරිය ප්‍රදේශයේ පදිංචි කාන්ති ඒකනායක මහත්මිය විසින් මේ විදිහට ඉදිරිපත් කළා.

"උන්වහන්සේගෙ ශ්‍රී දේහය චිතකයේ තැන්පත් කරල ගිනි දල්වන්න ඉස්සෙල්ල ගුවනින් මල් දැම්මා. ඒ වෙලාවෙ හරියටම චිතකයට නුදුරින්, ඒ මල් ඉහපු හෙලිකොප්ටර් යානයටත් ඉහළ ආකාසයේ, සුදෝ සුදු වළාකුලින් හැදිච්ච විසාල නෙළුම් මලක් ඉතා පැහැදිලිව දිස් වුනා. වළාකුළු පහළට ඇවිත් නටුවත් එක්ක පිපිච්ච නෙළුම් මලක හැඩයට තරමක් ඇල වෙලා තමයි ඒක තිබුනෙ. ඒක මම මේ ඇස් දෙකෙන් හොඳටම දැක්කා. හෙලිකොප්ටර් යානය ඒ ළඟින් යනකොට මට හිතුනා, අනේ ඒකට අහු වෙලා ඒ මල කැඩෙයිද කියල. ඒ නෙළුම් මලේ නැට්ට චිතකය පැත්තෙන් වමට ටිකක් ඈත් වෙලා නෙළුම් මල උඩට හිටින්න තමයි පිහිටල තිබුනෙ. එතන තවත් පිරිස හිටපු නිසා මම ඒ අයටත් කෑ ගහල කිව්වා, අන්න නෙළුම් මලක් පිපිල කියල. ඒ පිරිසත් ඒක දැකල, නෙළුම් මලක් කියල කෑ ගැහුවා. ඒ දර්ශනය දැකල ඒ අයගෙ ඇස්වලින් කඳුළුත් ආවා. දැන් මට ඒ අය කවුද කියල මතක නෑ. මම විශේෂයෙන් ඒ දිහා බලාගෙන හිටියා, දැන් දේවතා වගේ කොටස් මේ නෙළුම් මලින් එළියට එයිද කියල. නමුත් එහෙම දෙයක් නම් පෙනුනෙ නෑ. මල හරිම ලස්සනට ලොකුවට විහිදිලා පෙතිත් එක්ක තිබුනා. අහසෙ වෙන එක තැනකවත් ඒ වගේ මලක් තිබුනෙ නෑ. ගුවනින් මල් ඉහල ගියාට පස්සෙ ඒ නෙළුම් මලත් ටිකෙන් ටික ඈත් වෙලා ගියා. අන්තිමට බොඳ වෙලා ගියා. විනාඩි 10ක් විතර ඒ දර්ශනය තිබුනා. ඒත් කැමරාවකට ඒක ගන්න පුළුවන් වුනාද කියල මම දන්නෙ නෑ. මොකද ඉහළ ආකාසයේ වෙච්ච සිද්ධියක්. ඒකෙ පින්තූරයක් ගන්න කාටහරි කියන්න කියල බැලුවත් කවුරුවත් එහෙම කෙනෙක් හිටියෙ නෑ."

මේ කියන විශේෂ සිද්ධියට අදාළ දර්ශනයක් කියල හිතන්න පුළුවන් අවස්ථාවක් වීඩියෝ කැමරාවක එක්තරා මට්ටමකට සටහන් වෙලා තිබුනා. ඒ වීඩියෝ දර්ශන පෙළ පරීක්ෂා කරල ඉතා අපහසුවෙන් මේ සිද්ධියට අදාළව හසු කරගත් දර්ශනයක් තමයි හෙළ බොදු පියුම 69 වන කලාපයේ පසුපස පිටත කවරයේ පළ කළේ. පියවි ඇසින් දකිනව වගේ නැතත්, ඒ පින්තූරයෙන් එක්තරා අදහසක් ගන්න පුළුවන්. ඒ වගේම මා වෙත ලැබුනු ඉතා සියුම් කැමරා මගින් ගත් ඡායාරූප කිහිපයක් විශාලනය කරල බලනකොට, දේවතා විමන් ආකාරයෙන් දිස් වෙච්ච රවුම් ප්‍රදේශ තුල ඉඳගෙන යම් යම් දේවල් ඉහින දේවතා කොටස් වගේ දකගන්න ලැබුනත්, සඟරාවෙ පළ කරන්න තරම් ඒවා පැහැදිලි නෑ.

නම් ගම් සඳහන් නොකරන ලෙස ඉල්ලා සිටි, ආර්ය මාර්ගයේ ගමන් කරන සමාධි වැඩිච්ච තවත් තරුණ මහත්මයෙක් උන්වහන්සේගේ ආදාහනය දවසෙ දැකපු විශේෂ සිද්ධි කිහිපයක් මේ විදිහට විස්තර කළා.

"උන්වහන්සේගෙ ආදාහන පූජෝත්සවයට සැහෙන්න දෙවි දේවතාවො බ්‍රහ්මයො ඇවිත් හිටියා. එතනට ඇවිත් හිටපු මනුස්ස පිරිසත් එක්ක බලත්දි ඒ පිරිස විසාලයි. මනුස්සයො ඊට අඩුයි. ඒ දර්ශන පෙළ හරියට රූපවාහිනී තිරයක වගේ ඉතා පැහැදිලිව දර්ශනය වුනා. සමාධි වැඩිච්ච අයට ඒක හොඳින් දර්ශනය කරගන්න පුළුවන්. හරියට 3D තාක්ෂණයෙන් හදපු රූප පෙළක් වගේ. සමහර දර්ශන මේ මස් ලේ ඇස් දෙකටම පේනවා. සමහර ඒවා සමාධියට දර්ශනය වෙනවා. හැබැයි සමාධි දර්ශන කියල මට නම් කිසිම වෙනසක් නෑ. සාමාන්‍ය විදිහටමයි පෙනුනෙ.

උන්වහන්සේගෙ දේහය පන්සලේ ඉඳන් ආදාහනය කරන ස්ථානයට වඩම්මගෙන එනකොට පවා මේ මනුස්ස ලෝකෙ අපි කරපු පුද සත්කාරවලට අමතරව ඒ අයත් උඩින් ඉඳගෙන සැහෙන මල්, සුවඳ පැන්... ආදිය ඉස්සා. සමහර අවස්ථාවල ආදාහන පෙරහැරට ඉදිරියෙදි එන මාර්ග බාධක පවා ඒ අය ඉවත් කළා. ඒ කියන්නෙ රථ වාහන පාලනය කළා කියන එකම නෙවෙයි. ඒ රථ වාහන වුනත් එහා මෙහා කරනකොට ඒ අය නොපෙනෙන්න ඉඩකඩ සලසල දුන්නා.

ඒ වගේම උන්වහන්සේගෙ දේහය වටා හතර පැත්තෙන් අපේ භික්ෂූන් වහන්සේලා හතර නමක් භාවනානුයෝගීව වැඩ හිටිය වගේ, ඒ අයත් ඉහළ අහසේ පලක් බැඳගෙන භාවනානුයෝගීව ගරුසරු දැක්වුවා. අපේ භික්ෂූන් වහන්සේලා හතර නම නම් විධාව නිසා වරින්වර මාරු වුනා. නමුත් ඒ දෙවිවරු එහෙම මාරු වුනේ විධාව නිසා නෙවෙයි. එක එක්කෙනා පොර බදල වගේ, අනේ මටත් පොඩ්ඩක් ඉඩ දෙන්න උන්වහන්සේට ගෞරව දක්වන්න කියල ඉල්ලනවා. ඒ වගේම සමහර බ්‍රහ්මයො ඒ වගේ ඉරියව්වලින් භාවනා සමාධියට සම වැදිල හිටියා. ඒ සියලු දෙනාම ඒ අවස්ථාවෙදි දක්වන්න ඕන සියලු පුද සත්කාර කළා. ඒ අය සම්‍යක් දෘෂ්ටික, මේ බණ අහපු අය වෙන්න ඕන. ඒ අයගෙ හැසිරීමෙන් ඒක පේනවා. මේ මාර්ගයේ ගමන් කරන අයට ඒ අය උදව් කරනවා. වහරක පන්සලට සම්බන්ධ වෙලා ඉඳල මිය පරලොව ගිය කිහිප දෙනෙකුත් ඒ දේව අත්බැව් අතර හිටියා. ඒ අයටත් දුකයි. බ්‍රහ්මයින්ටත් දුකයි. නමුත් බ්‍රහ්මයො නම් දුකයි කියල කඳුලු හැලුවෙ නෑ. හැබැයි අර දෙවි දේවතාවො අතර නම් දරාගන්න බැරි තරමට අඬපු අය හිටියා. පන්සල් භූමියට උඩින් සැහෙන දෙවි දේවතාවො රැස් වෙලා හිටියා. ආදාහන කටයුතු ඉවර වෙලා අවසන් මොහොත දක්වාම ඒ අය හිටියා. ඒ අයට ඒක මහ ලොකු වෙලාවක් නෙවෙයි. අපේ දවස් ගණනක් කියන්නෙ ඒ අයට ඉතාම සුළු වෙලාවක්.

අපි දන්නෙ නැති වුනාට දේව මණ්ඩලයෙන් ඒ අයට වෙන වෙනම කටයුතු බාර දීල තිබුනා. ඒ අයටත් උදව් කරන්න තවත් අය හිටියා. ආදාහනය දවසෙත් විශේෂ කටයුතු බාරදීල තිබුනා. එතනදි ප්‍රධානම කාරණයක් තමයි, මෙන්න මේ ධාතූන් වහන්සේලා පරිවර්තනය වෙනවා, ඔයගොල්ලො ඒවා වඩම්මවන්න කියල ඒ විදිහට ඒ ධාතූන් වහන්සේලා කොටසක් ආදාහනය වෙලාවෙදි ඒ අය අරගත්තා. ඒවා හරිම ලස්සනයි. රත්තරන් පාටට, පළිඟු පාටට, දම් පාට, දුඹුරු පාට, අබ ඇට තරම් ඒවා, ඊට වඩා වැඩි ගම්මිරිස් ඇට තරම් ඒවා, ඔප දාපු මැණික් වගේ ඒවා තිබුනා. ආදාහනය සිද්ධ වෙන වෙලාවෙදි ඒ දේව කොටස් ඒ ස්ථානයටම වෙලා බලාගෙන හිටියා. ගින්දරත් එක්ක හිටිය කියල දෙවියන්ගෙ ශරීර පිච්චෙන්නෙ නෑ. සමහරවිට සියුම් කැමරාවලින් ඡායාරූප ගන්නකොට ඒ ☞

ආලෝක රටා දැකපු අයත් ඇති. සියුම් කාචවලට ඒවා අහු වෙනවා. සියුම් දේවල් දකින්න පුළුවන් අයට ඒවා පේන්නත් ඇති. දෙවිවරු බ්‍රහ්මයො වඩිනවා. ඒ අය ලොකු ආලෝක ධාරාවක් ඔස්සේ ඒ ස්ථානයට ඇවිත් හිටියෙ. සාමාන්‍යයෙන් මනුස්සයො ඉන්න තැනින් ඒ අය එන්නෙ නෑ. දේහය ළඟ චිතකය ඇතුලෙ කවුරුවත් මනුස්සයො හිටියෙ නෑ. නමුත් දෙවියො නමස්කාර කරගෙන ගාථා සජ්ඣායනා කරමින් දේහය අසළ හිටියා. එතකොට ධාතූන් වහන්සේලා පරිවර්තනයට අවශ්‍ය ශක්තියත් ඒ අය නිකුත් කළා. ඒ ගොඩක් අය ධර්මාවබෝධයක් ලබපු අය වගේ තමයි දැනුනෙ.

මනුස්ස පිරිස් යනව එනව වගේ ඒ අයත් වරින් වර යනව එනවා. ඒ හුඟක් පිරිස් යනකොට ධාතූන් වහන්සේලා වඩම්මගෙන තමයි ගියේ. මේ සියල්ලටම ඒ අයට ගියෙ පොඩි වෙලාවයි. ඒ වෙලාව ඒ අයට එච්චර ලොකුවට දැනෙන්නෙ නෑ. ඒ ආදාහනය වෙන තැන අළු අස්සෙ තිබ්බ්ච දේවල් අපිට නොපෙනුනත් ඒ අයගෙ දිවැස්වලට පෙනුනා. ඒ අය ඒවා ඒ මොහොතෙම දිව්‍ය අත්වලින් අරගත්තා. ඒවා හරියට ඉටි කොළයක් ගින්නට දැම්මම ගුලි වෙලා ගිහින් විවිධ හැඩ ගන්නව වගේ. හැබැයි ගුලි වෙලා පිච්චෙනව නෙවෙයි. යම් ආකාරයකට හැඩ ගැහෙනවා.



බ්‍රහ්මයන් පවා ඇවිත් යම් මට්ටමකට බිමට බැහැල හිටියා. ඒ අයගෙ ශරීර සාපේක්ෂව සුදු ආලෝකයෙන් වැඩියි. අමුතු ප්‍රභාෂ්වර ගතියක් තිබුනෙ. මුහුණු හරියට අපි පින්තූරවල දකින බ්‍රාහ්මණ ස්වරූපය වගේ. සමහරුන්ගෙ කෙස් සුදු පාටයි. ඒත් ශරීර බොහොම තරුණයි. සුදු කහ ඇඳුම් ඇඳගත්තු අයත් හිටියා. ඇට මාල දාපු අය හිටියා. සමහරුන්ගෙ ශරීරයේ ඇඳුම පවා අඳුන ගන්න බැරි තරමට ප්‍රභාෂ්වරයි. සමහර අය බහින්න පුළුවන් මට්ටම්වලදි බිමට බැහැල නමස්කාර කරල උන්වහන්සේගෙ කකුල් දෙක අල්ලල වැන්දා. ඒ අය නළල ස්පර්ශ කරල විවිධ ප්‍රාර්ථනාත් කළා. ප්‍රඥාව ලැබෙන්න, දේශනා ප්‍රාතිහාර්ය ලැබෙන්න... ආදී වශයෙන් ඒ දේව බ්‍රහ්ම තලවලට අවශ්‍ය කටයුතු ප්‍රාර්ථනා කරපු අයත් හිටියා. ඒ අය ඒ අවස්ථාවෙන් උපරිම ප්‍රයෝජන ගත්තා. තමන්ට පැවරිච්ච දේව කාරියට අනුව ඒ සමහර දේවතා කොටස් ආදාහන භූමියේ එළිවෙනකල්ම හිටියා. අපේ

දේහය ටික ටික දැවෙත්දි අන්තිමට වටේ හිටපු මිනිස් පිරිසත් ඒ ස්ථානයට ළං වුනා. එතකොටම ඒ දෙවි දේවතාවො ඒ ධාතු කොටස් අරගෙන අහසට නැගල විවිධ ස්ථානවල තැන්පත් කළා. ඒවා ආරක්ෂා කරන්න වෙනම දේව පිරිස් ඉන්නවා. සුදුසු ස්ථානවලට ඒ ධාතූන් වහන්සේලා වැඩම්මෙව්වා. අපේ සමහර පිරිස් කියනවා, රුවන්වැලි මහා සෑය ළඟ උන්වහන්සේ වැඩ හිටිය කියල. මොකද අර ධාතූන් වහන්සේලා ඒ ස්ථානයෙත් තැන්පත් කරල තිබුනා. කවුරුහරි ප්‍රාර්ථනා කළොත් උන්වහන්සේ අපිට මැවිල පේන්න කියල, යම් ආකාරයකට හේතු තියේ නම් එහෙම මැවිල එන්න පුළුවන්, කතා කරන්න පුළුවන්. හැබැයි ඇත්තටම උන්වහන්සේ ජීවමානව වැඩ ඉන්නව නෙවෙයි. ඒක මැවෙන දර්ශනයක් විතරයි. නමුත් මාර පාක්ෂික බලවේග ක්‍රියාත්මක වෙන්න පුළුවන් නිසා ඒ සම්බන්ධයෙන් බොහොම ප්‍රවේසමෙන් කටයුතු කරන්න ඕන. ඒ වගේම රුවන්වැලි මහා සෑය, ජය ශ්‍රී මහා බෝධිය, අභයගිරිය, ථූපාරාමය, වහරක බෝධිය... ආදී හුඟක් පූජනීය ස්ථානවල කිරණ ශක්තිය ගන්න පුළුවන් විදිහට උන්වහන්සේ අධිෂ්ඨාන කරල යම් කිසි සම්බන්ධයක් ඇති කරල තියෙනවා. අපි ජයෝ මුනින්දස්ස ගාථාව කියනකොට බෝධීන් වහන්සේගෙ කිරණ ශක්තිය ඇදල ගන්න පුළුවන් වගේ, ඒ ශක්තියත් හේතු තියෙන පින්වත් පිරිස්වලට ගන්න පුළුවන්.

ඒ වගේම තමයි එදා ඒ දෙවි දේවතා පිරිස් විවිධ සුවඳ වර්ග, පැන් වර්ග පවා ඉස්සා. රත්රන් කෙණ්ඩිවලින් තමයි ඒවා ඉස්සෙ. විවිධ ඖෂධ පවා ඉස්සා. වහරක හාමුදුරුවො අන්තිමට අසනීප වෙලා ඉන්නකොටත් ඒ අයගෙ දිව්‍ය ඔසු උන්වහන්සේට පෙව්වා, ඇගේ ගැල්ලුවා. ඒ වගේ දේවල් පවා කළා. දේහය වඩම්මනකොටත් දිගටම සුවඳ පැන් ඉස්සා. හෙම්බිරිස්සාව නැති කෙනෙක් නම් ඒ සුවඳ පවා දැනෙනවා. පිච්ච මල්, හඳුන්කූරු සුවඳ සෑහෙන්න දැනුනා. ඒ අපේ මනුස්ස පිරිස් ඉහල නෙවෙයි. මේ මස් ලේ නහයටම ඒ සුවඳ දැනුනා. නමුත් මට ඒකෙ වෙනසක් දැනුනෙ නෑ. මොකද මට ඒ දර්ශනත් පෙනිච්ච නිසා. ඒ දර්ශනයට පෙර අමුතු සුවඳක් එන්න ගත්තම මමත් බැලුවා. එතකොට තමයි දැක්කෙ හඳුන්කූරු දුම වගේ හමනවා. ඒ දෙවි දේවතාවන්ගෙ පුදුම සත්කාර. වහරක හාමුදුරුවන්ගෙන් අවසාන මොහොතෙදි බණ අහපු දෙවිවරුත් ඒ අතර හිටියා.

සතරවරම් දෙවිවරු, සක්‍ර දෙවියො, නාථ දෙවියො, උපුල්වන් දෙවියො, සුමන සමන් දෙවියො, කතරගම දෙවියො, විෂ්ණු දෙවියො, පත්තිනි දෙවියො... මේ වගේ ප්‍රබල දේව කොටස් පවා සම්බන්ධ වුනා. අපි දැන් දකින පින්තූරවල ඉන්න දෙවියන්ට වඩා ඒ අය ලස්සනයි. නමුත් ස්වරූපය ඊට සමානයි. ඒ අය ආමන්ත්‍රණය කරන හඬ පවා ඇහෙනවා. ආ සුමන කොහොමද? අපෙන් වෙන්න ඕන මොනවද?... ඔය විදිහට අහල ඒ වැඩ කටයුතුවලට සම්බන්ධ වෙනවා. ඒ වගේම මේ මනුස්ස ලෝකෙ ඉන්න අය සමහර දේවතා කොටස් නොමග යවල වහරක හාමුදුරුවන්ට බන්ධන කරපු අවස්ථාත් තිබුනා. ඒවට සම්බන්ධ වෙච්ච දේව කොටස් පවා ඒවායින් මිදිල මේ අවස්ථාවට ඇවිත් හිටියා. සමහර දෙවිවරු අඬනකොට මිත්‍යා දෘෂ්ටිකයො පැත්තකට වෙලා

බලාගෙන හිටියා. ඒ අය අඬනකොට කඳුළු වැටෙනව වගේ පෙනුනට එක්තරා දුරකට ඇවිත් නවතිනවා. එතනින් පහළට ඒ කඳුළු සියුම්ව වැටෙනවද කියන්න මම දන්නෙ නෑ. නමුත් වැටෙන තැනක් පේන්න නෑ. මොකද මගේ පේන මට්ටම ඒ සීමාවෙන් ඉවරද දන්නෙ නෑ.

ඒ අය කතා කරන ඒවත් මට සිංහලෙන් ඇහෙනවා. සමහරවිට පරිවර්තනය වෙලා ඇහෙනවද දන්නෙ නෑ. ඒ දෙවිවරු විවිධ දේවල් සාකච්ඡා කළා. දැන් මේ සාසනය නැගිල එන කාලෙක උන්වහන්සේ සෑහෙන පරිශ්‍රමයක් දරල සාසනය ගොඩ නැගුවා, අපි ඒ මාර්ගය අනුගමනය කරන අයට උදව් කරන්න ඕන... ආදී වශයෙන් ඒ අය අතර කතා වුනා. ඒ වගේම විරුද්ධ පාක්ෂිකයොත් ඇතින් හිටියා. හැබැයි මුකුත් බාධා කරන්න ආවෙ නෑ. නමුත් මේ මාර්ගයේ යන පිරිස් නොමග යවන්න ඒ අය උත්සාහ කරන්න පුළුවන්. දැන් වහරක හාමුදුරුවො නැති නිසා ඒ අය බලාගෙන ඉන්නෙ ඉදිරියට එන පිරිස්වලට පහර ගහන්න. හැබැයි රැකවරණයට සම්‍යක් දෘෂ්ටික දෙවියොත් ඉන්නවා. ඒත් ඒ අයටත් පාලනය කරන්න බැරි අවස්ථා සමහර විට එන්න පුළුවන්. මොකද ආර්යන්ට වඩා තවමත් මාර පාක්ෂික බලවේග ප්‍රබලයි. මොකද තවම අරිහතුන් වහන්සේලා හුඟක් බිහි වෙලා නෑ. ඒ නිසා වැට උඩ ඉන්න සමහර පිරිස් ඒ අයගෙ පැත්තට නම්මගන්න බලන්න පුළුවන්.

ඒ වගේම ඒ ආපු දෙවි දේවතා කොටස්වලට අවශ්‍ය විදිහට ශරීර සංකෝචනය කරන්න පුළුවන්කමත් තිබුනා. ඒ නිසා කොච්චර පිරිස හිටියත් ඉඩකඩ ප්‍රශ්නයක් වුනේ නෑ. මනුස්සයොත් එක්ක ඉන්න පුළුවන් අයත් ඒ අතර හිටියා. ඒ අයගෙ ශරීරවලට අපිට වගේ ප්‍රශ්න නෑ. ඒ නිසා කොච්චර ප්‍රදේශයක විසිරිලා හිටියද කියල මට හරියටම කියන්න තේරෙන්නෙ නෑ. සමහරු අහසේ වියන් බැඳගෙන මහා විසාල ප්‍රදේශයක්ම ඒ ස්වභාවයෙන් දිස් වුනා. ඒ අයගෙන් විහිදිච්ච ඒ ආලෝක කිරණ සියුම් කැමරා කාචවල සටහන් වෙලා ඇති.

ඒ වගේම උන්වහන්සේගෙන් බණ අහපු, යහපත බලාපොරොත්තුවෙන් හිටපු, නරක තැන්වල ඉඳන් ටිකක් හොඳ වෙච්ච සමහර බහිරව වගේ කොටස් පවා අපි නොදන්නව වුනාට උන්වහන්සේගෙ දේහයට කර තිව්වා. සමහර ප්‍රේත කොටස් පවා හිටියා. නරක තැන්වල වුනත් ඒ වගේ හොඳ අයත් ඉන්නවා. ඒ අයගෙ ශරීර නිකං මන්ද පෝෂණය හැදිච්ච අය වගේ. හැබැයි දෙවි දේවතාවන්ට වඩා ඒ වගේ පිරිස් බොහොම අඩුවෙන් තමයි හිටියෙ.

ඒ වගේම කෙනෙක් මියගියාම කන්න බලාගෙන ඉන්න නරි වගේ එවුනුත් ඒ අතර හිටියා. ඒ අය ඇවිත් කන්න බැලුවත් කන්න දෙයක් නෑ. මොකද මේ අරිහතුන් වහන්සේ නමකගෙ දේහයක්, උන්වහන්සේගෙ ධාතුන් වහන්සේලා. ඒ අයට ඒවට හිම්කමක් නෑ. ඒ අය මස් කටු ලෙවකන්න ඉතිරි වෙලා තියෙනවද කියල බලන්නයි ආවෙ. අපිට නොපෙනුනාට, කනත්ත ළඟට යත්දි මිනියක් බර වෙනව කියනවා. මොකද කෙනෙක් මැරුනම ඒකෙ සාරය උරා බොන්න බලාගෙන ඉන්න අමනුස්ස පිරිස් ඒ අවස්ථාව එනකල් බලාගෙන ඉඳල මිනිය උඩට නැග්ගම ඒක බරට දැනෙනවා. නමුත් වහරක හාමුදුරුවන්ගෙ දේහය එහෙම බර වුනේ නෑ. මොකද රහතන් වහන්සේ නමකගෙ දේහයකට අමනුස්සයින්ට හිම්කමක් නෑ. එහෙම නැත්නම් සාමාන්‍යයෙන් ගෙදරක මිනියක් තැන්පත් කරල තිබ්ල ගේ සීමාවෙන් ඈතට යන්න යන්න මිනිය බර වෙනවා. කනත්තට ගිහින් තැන්පත් කළාම අමනුස්සයො ඒක උඩ නැගගෙන කන්න තමයි පොර කන්නෙ. ඒක අපිට පේන්නෙ නෑ. නමුත් සියුම්ව උන් ඒකෙ සාරය උරා බොනවා. නමුත් මුන්වහන්සේගෙ දේහයෙන් එහෙම දෙයක් ගන්න බෑ. ඒ නිසා ඒ අය නිකං වික්ෂිප්ත වෙලා වගේ හිටියෙ. මොකද මේ වගේ අවස්ථාවක් / දේහයක් ඒ අය දැකල නෑ.

මාරයා වුනත් එදා උන්වහන්සේ රෝහලේදි මේ කය අතහරිනකොට ප්‍රීතිඝෝෂා කළාට දැන් වැඩේ ඉවරයි කියල, ආදාහනය දවසෙදි නිකං පැත්තකට වෙලා බලාගෙන හිටියා. මොකද මාරයා දැනගෙන හිටියා එතන මොකක් හරි වෙලා තියෙනව කියල. ඇත්තටම වැඩේ ඉවරද නැත්ද, පිරිනිවන් පෑවද නැත්ද කියල ඒ අයට හිතාගන්න බැරිව හිටියෙ. ඒ අයට ඕන වුනේ එහෙම දෙයක් නොවෙන්න. අර විදිහට මනුස්සයොත් වට වෙලා, දේව පිරිස් වට වෙලා විසාල වශයෙන් ඉන්නකොට ඒ අයට යම්කිසි බයකුත් ඇති වුනා. ඒ නිසා ආදාහනය දවසෙ මාර බලවේග ඈතින් ඉඳගෙන තමයි මොකද වෙන්නෙ කියල බලාගෙන හිටියෙ. සාමාන්‍යයෙන් වසවර්ති මාරයා කියන්නෙ බොහොම ලස්සන තේජස් තියෙන දිළිසෙන කෙනෙක්. හැබැයි ඒ පිරිස අතර අවලස්සන අයත් හිටියා. අපේ අය පුද සත්කාර කරත්දි ඒවට බාධා කරන්න නම් ඒ අය ආවෙ නෑ.

එතකොට මේ හුඟක් සිදුවීම් මම එදා මස් ලේ ඇහැටම දැක්කා. එදා වෙච්ච දේවල් දැන් වුනත් බලන්න පුළුවන්. හරියට යම් කිසි පටිගත කරපු තැටියක් දාල පස්සෙන් පස්සට ගිහින් ආපහු බලනව වගේ. මම මතක තියාගෙන හිටියෙ නෑ මොනවද වුනේ කියල. නමුත් දැන් වුනත් ඕන නම් ඒ සිද්ධි නැවත බලන්න පුළුවන්. එදා දැක්කෙ නැති සමහර සිද්ධි දැන් බලනකොට තමයි පේන්නෙ."

නම් ගම් සඳහන් නොකරන ලෙස ඉල්ලා සිටි, ආර්ය මාර්ගය පූර්ණ කරමින් යන තවත් පින්වත් මහත්මියකගේ අත්දැකීම් තමයි මේ.

"මම උන්වහන්සේ පිරිනිවන් පාන්න පෙරත් අවසාන කාලයේ බලන්න රෝහලට ගියා. ඒ වෙලාවෙ නම් වටපිටාවෙ ලොකු කලබලයක් තිබුනෙ නෑ. පස්සෙ මම භාවනා කරන වෙලාවට යොමු කරල බැලුවා. උන්වහන්සේ විසාල දේවතා පිරිසකගෙ ආරක්ෂාව සමග ඒ අයට කතා කරමින් හිටියා. ඊට ඉස්සරත් උන්වහන්සේ දිව්‍ය ලෝකෙ දේව පිරිස් සමග කතා කර කර ඉඳල තියෙනවා. අපි හිතන්නෙ මනුස්ස ලෝකෙදි විතරයි උන්වහන්සේ සමාධි වැඩුවෙ කියල. නමුත් උන්වහන්සේ මනෝ කයින් තව්තිසා දිව්‍ය ලෝකයට පවා ගිහින් තියෙනවා. එතකොට එහේ ඉන්න දිව්‍ය කොටස් උන්වහන්සේව වැඳ පුදාගෙන තියෙනවා.

සමාධි, මග ඵල, ධ්‍යාන කියන්නෙ කාරණා 3 ක්. සමාධි කියල මට හැඟෙන විදිහට කිව්වොත්, හිත සියුම් කරපු තරමට ඒ අදාළ තලවල දේවල් ඇදිල එනවා. හරියට රූපවාහිනී යන්ත්‍රයක තරංග සුසර කරනකොට අදාළ දර්ශන ඇදිල එනව වගේ. ඒ වගේ තමයි සමාධියක් ගොඩනැගෙන්නෙ. ඉතින් ඒ වගේ විවිධාකාර සමාධි වර්ග තියෙනවා. ලෝකෙ ඕනම තැනක සිද්ධ වෙන දේවල් තමන්ගෙම සමාධිවල ඉන්නකොට රෑ නින්දෙදි වුනත් ඇහැරිලා ඒවා දර්ශනය වෙනවා. ඒ තරමට හිත ☞

සියුම් නම් ඒ අදාළ සමාධියෙදී නැගිටල හරි ඒක පේන්න ගන්නවා. හැබැයි මේ සමාධි, ධ්‍යාන කියන්නෙ නිවනට සාපේක්ෂව ගත්තම ඉතාමත් ප්‍රාථමික මට්ටමේ දෙයක්. ඒ නිසා ඒවායේ එල්ලිලා උදම් අනන්න තරම් සුදුසු දේවල් නෙවෙයි. අනිච්ච, දුක්ඛ, අනත්ත මෙනෙහි කිරීමයි වැදගත්.

වහරක හාමුදුරුවන්ගෙ ශරීරයට සවි කරල තිබ්බ යන්ත්‍රය පෙබරවාරි 9 වෙනිදා දවල් නැවතුනත්, මට දැනෙන විදිහට හරියට පෙබරවාරි 10 වෙනිද නවම් පුරපසළොස්වක පෝය දවසෙ පාන්දර එකෙන් පස්සෙ තමයි උන්වහන්සේගෙ පිරිනිවන්පෑම සිද්ධ වුනේ. නවම් පෝය කියන්නෙ ලොව්තුරා බුදුන්වහන්සේ ආයු සංස්කාරය අතහැරපු දවස. මොකද වහරක හාමුදුරුවො කියන්නෙ අපේ කාලෙ හැටියට මේ සාසනය යට ගිය අවස්ථාවෙ නැවත නගා හිටවපු මහා උත්තමයෙක්. ඒ වගේ උත්තමයෙක් නිකං දවසක පිරිනිවන් පාන්නෙ නෑ.

මොකද මේ ලෝකෙට විශේෂයෙන් හොඳ දේවල් සිද්ධ වෙන වෙලාවල් තියෙනවා. මේ විශ්වයේ අළුයම 1.00 - 6.00 දක්වා තමයි හොඳම කාලය. ඒ කාලය තමයි භාවනාවක් හෝ යම් කිසි හොඳ දෙයක් පටන් ගන්න සුදුසුම වෙලාව. මොකද මිනිස්සු නිදාගත්තම රාග, ද්වේශ, මෝහ වැඩීම තාවකාලිකව නතර වෙනවා. පරිසර පද්ධති සම අතට පත්වෙනවා. රාග, ද්වේශ, මෝහ වඩනකොට පිටවෙන කළු කිරණ විශ්වයට එකතු වීම තාවකාලිකව නවතින වෙලාව තමයි ඒ. ඒ වෙලාව තුල කරන කියන වැඩ කටයුතු සාපේක්ෂව සාර්ථක වෙනවා. ඒවා සමාධියටත් ගෝචරයි. මේක වුනේ කොහොමද කියල හොඳට පේනවා. යම් කිසි කෙනෙක් ආර්යෙක් නම් ඒ ශක්තිය සමනන්තර අනන්තර ප්‍රත්‍ය අනුව ඇදිල එනවා. ඒ නිසා තමයි ආර්යෙකුට ලැබෙන රැකවරණය වෙන කාටවත් වෙන කොහෙන්වත් ලැබෙන්නෙ නැත්තෙ. හැබැයි ආර්යෝ ඒ ශක්තිය හැමතිස්සෙම උරගා බලන්නෙ නෑ. රාග, ද්වේශ, මෝහ ප්‍රහීණ කරන මාර්ගයට ඇතුළු වුනේ නැත්නම් ඒ සියල්ලම බලන්නත් බෑ. ඉතින් මට ඒ විදිහට තමයි උන්වහන්සේගෙ පිරිනිවන් පෑම දැනුනෙ. හැබැයි ඊට පස්සෙ යම් යම් සංවේගජනක දේවල් සිද්ධ වුනා. ඒවා සටහන් කරන්න අවශ්‍ය නෑ.

(විවිධ අය වඩපු සමාධි මට්ටම් එකිනෙකට වෙනස් නිසා පිරිනිවන්පෑ වෙලාව වගේ සූක්ෂම දෙයක් ඒ ඒ අයට යම් යම් වෙනස්කම් සහිතව ගෝචර වෙන්න පුළුවන්. අනික සමාධියකට සමවැදුනට පස්සෙ වෙලාව කියන එක ඒ හැටි දැනෙන්නෙ නෑ. ඒ නිසා මීට පෙර මේ සිද්ධිය දැකපු සමහර පින්වතුන් උන්වහන්සේ පිරිනිවන්පෑ වෙලාව සම්බන්ධයෙන් ඉදිරිපත් කරපු අදහස් සමග පරස්පරයක් හිතන්න අවශ්‍ය නෑ.)

ඉතින් දැන් උන්වහන්සේ ගිය තැනක්, ඉන්න තැනක් හොයන්න නෑ. ඒක එහෙමයි කියල ඔප්පු කරන්න තවත් සාක්ෂියක් තියෙනවා. අපිට මේ ඇහැට පේන්නෙ නැති වුනාට, ඒ අවස්ථාවෙ හිටපු දේව බ්‍රහ්ම කොටස් දිහා ඉතා සියුම්ව බලනකොට ඒ අයගෙ මුහුණෙ ඉරියව්වල ස්වභාවයෙන් ඒක කියන්න පුළුවන්. එතකොට ඒ අවස්ථාව හොඳ අවස්ථාවක් නම් ඒ අය සතුටින් ඉන්න ඕන. මොකද ඒ අයගෙත් බලාපොරොත්තුව තිබුනෙ උන්වහන්සේ තවත් කාලයක් වැඩ ඉන්න. වටපිටාවෙ තියෙන සාක්ෂි සියල්ල ගත්තම ඒ අයගෙ සංවේගී බවෙනුත්, උන්වහන්සේ පිරිනිවන්පෑව කියල කියන්න පුළුවන්.

ආදාහනය දවස ගැන සිහි කළොත්, අරිහතුන් වහන්සේ නමකගෙ ආදාහනයක් මම මීට පෙර දැකල නැති නිසා බොහොම කැමැත්තෙන් තමයි එදා බලන්න ගියේ. මොකද අපි කවුරුවත් දන්නෙ නෑ ඒ වගේ ආදාහනයකදී මොනවද සිද්ධ වෙන්නෙ කියල. මේක අපි මෑත කාලීනව අහල නැති දෙයක්. මේ දහම් මග නැවත ලෝකයාට හෙළි කරල දුන්න උන්වහන්සේ විශේෂ අරිහතුන් වහන්සේ නමක්. ඒ දේහය ආදාහනය කරන්න චිතකයට වඩම්මන කල්ම දේහයට ඉහළින්, දේහයේ දිග පළලටම, දේහයත් එක්කම ලා නිල් පාටට හුරු සුදු පාට මහා ශක්ති කදම්භයක් ගමන් කළා. උන්වහන්සේගෙ දේහය දැවෙත්දි ඒ ශක්ති කදම්බය ගින්නට අසු නොවී ක්ෂණයකින් ඉහළට ගියා. ඒක උන්වහන්සේගෙ සුද්ධ ශක්තියක්. ඒකට මොකක්හරි නමක් කියනව ඇති. මට හරි පුදුමයි, කොහොමද පිරිස මේ දේහය රැගෙන යනකොටත් ඒ ශක්තිය ඒත් එක්කම උඩින් යන්නෙ කියල. දේහය ගිනි ගන්නකල්ම ඒ ශක්තිය ඉහළින් තිබිල ගින්නත් එක්කම අයින් වෙලා වටේට ගිහින් උඩටම ගියා. ඒ ශක්තිය ඉහළ කරකැවි කැවී තියෙනකොට දේව මණ්ඩල කතා වුනා දැන් මොකද කරන්නෙ කියල. ඒත් එක්කම දේවතා මණ්ඩල බලාගෙන ඉඳල සාකච්ඡා කරල ආසනයක් පැනෙව්වා. ඒ පනවපු ආසනය එක පැත්තක් දිගයි, අනිත් පැත්ත රවුම්. අර ඉහළට ගිය ශක්ති කදම්භය ඒ දේවතා කොටස් ඒ ආසනයට තැන්පත් කරගත්තා. ආදාහන කටයුතු සියල්ල ඉවර වෙනකල් ඒ ශක්තිය සහිත ආසනය ඉහළ ආකාසයේ තිබුනා.

මමත් බැලුවා මේ මොකක්ද කියල. ආදාහනය ඉවර වෙනවත් එක්කම පාන්දර හරිම ආශ්චර්යමත් විදිහට ඒ ශක්තිය නැවතත් බිමට ඇවිත් අර ධාතුන් වහන්සේලා තුලට සම්පූර්ණයෙන් ගැබ් වුනා. ඒක දේවතා මණ්ඩලවලින් කරපු වැඩක්. උන්වහන්සේගෙ දේහයේ සෙවණැල්ලක් විදිහට තමයි ඒ ශක්තිය ගමන් කළේ. හරියට විදුලි බුබුලක් පත්තු කළාම ඒකෙ සැකිල්ලෙ හැටියට ආලෝකය පේනව වගේ. ඒක උන්වහන්සේගෙ සුද්ධ ශක්තියෙන්ම ගොඩ නැගිච්ච දෙයක්.

ඊට පස්සෙ ගොඩක් ධාතුන් වහන්සේලා දෙවියො අරන් ගියා. ඔය ඉතිරි වෙලා තියෙන්නෙ බොහොම පොඩි කොටසක්. මොකද ඒ හිටපු දේවතා පිරිස් එක්ක බෙදා ගන්නකොට ගැටළු එනවා. මනුස්ස ලෝකෙ නම් කතා කරල දෙතුන් දෙනෙක් අතර තමයි ඔක බෙදෙන්නෙ. නමුත් මගේ මගේ කියන අය ගොඩක් ඉන්නකොට ඒක ලොකු ප්‍රශ්නයක්. මොකද හේතුව, උන්වහන්සේට නෑකම් කියපු බොහෝ පිරිසක් දිව්‍ය ලෝකවල හිටියා. ඒ අය සසරෙ පස්සෙන් ආපු පිරිස්. ඒ දෙවියො ගෙනිච්ච ධාතු කොටස්වලින් තමයි දිව්‍ය ලෝකවල ඒ අයගෙ බලය පෙන්වන්නෙ. මම ළඟ ලෝකෙ හිටපු බලවත් උත්තමයෙක්ගෙ ධාතු තියෙනවා... ආදී වශයෙන් තමන්ගෙ බලය පෙන්වන්න ඒ අය කැමතියි. හැබැයි බොරුවට මවා ගත්තු එකක් නම්, දෙවියන්ට වුනත් දිගටම තියාගෙන ඉන්න බෑ. ඒකට හේතු නැතිවෙනකොට ඒවා නැවතත් මනුස්ස ලෝකයට වඩම්මනවා.

ඉතින් දෙවියො ඒ ධාතුන් වහන්සේලා ඔක්කොම තියා ගන්නෙ නෑ. සම්පූර්ණයෙන් පරිවර්තනය වුනාට පස්සෙ අදාළ පිරිස්වලට වන්දනාමාන කරන්න ලබාදෙනවා. පුද පූජා කරල ඒකෙ හරි ප්‍රයෝජනය ගන්නත් ඒ ධාතුන් වහන්සේලා පූර්ණව

පරිවර්තනය වෙනකල් ඉන්න ඕන. විශේෂයෙන් සුමන සමන් දෙවියො මේ වැඩේට බැහැලම වැඩ. මොකද වහරක හාමුදුරුවන්ට සසර ගොඩක් කල් ඉඳන් නෑයෙක් වෙන කෙනෙක්. අනිත් එක උන්වහන්සේගෙ අඩවියේ තමයි මේ ආදාහනය සිද්ධ වුනේ. ඒ වගේම මගඵල ලාභී දෙවි කෙනෙක්. ඊට අමතරව සුමන සමන් දෙවියො මනුස්ස ලෝකෙ තියෙන ධාතූන් වහන්සේලා ගැනත් හොයල බලනවා. හරියට පුද පූජා නොකළොත්, මොනව හරි අනාරක්ෂිත බවක් ආවොත් නැවත වඩම්මනවා. ඒවා උන්වහන්සේ නොකළට දේවතා මණ්ඩවල වෙනම පිරිස් ඉන්නවා. නමුත් ධාතු ප්‍රදර්ශනය කරන වෙලාවට ඒ මහා දෙවි දේවතාවන් වහන්සේලාත් වඩිනවා. වෙසක් පෝය වෙනකොට ඔය ධාතූන් වහන්සේලා සාමාන්‍යයෙන් පරිවර්තනය වෙලා තිබුනෙ. ඒ එක පුංචි ධාතූන් වහන්සේ නමක් වුනත් ශක්තිය ප්‍රබලයි. ඒ හැම ධාතූන් වහන්සේ නමකගෙම වහරක හාමුදුරුවන්ගෙ ගති රුව සියුම්ව පිහිටල තියෙනවා. ඉතින් සම්පූර්ණ ධාතු පරිවර්තනයට තවත් කල් තියෙනවා. දෙවියන්ට ඒක එක පාරටම කරන්න බෑ. පූර්ණ වුනාට පස්සෙ අවශ්‍ය තැන්වලට වඩම්මනවා.

වහරක හාමුදුරුවො නැවත මතු කළ දහමින් ආලෝක වෙච්ච, දිව්‍ය ආයුස වැඩිවෙච්ච, ආර්ය මාර්ගයට යොමුවෙච්ච දෙවියො බ්‍රහ්මයො ගොඩක් හිටියා. ඒ බ්‍රහ්මයො ගැන කතා කළොත් ඒ අය ඉන්නෙ ආලෝක සංඥාවෙන්. හැබැයි ආදාහනය දවසෙ නම් ඒ ආලෝක සංඥාව දකින්න තිබුනෙ නෑ. ඒ තරම් පිරිස වැඩියි. අපිටත් හිතට ලොකු සංවේගයක් තිබුන දවසක්. ඒ නිසා ගොඩක් නිවිච්ච සමාධියකින් තමයි ඒ වගේ අවස්ථාවක් දකින්න ඕන. නමුත් ඊට පස්සෙ නිවී හැනහිල්ලෙ බලනකොට ඒ ඔක්කොම යොමු වෙනවා. ඒ දේව බ්‍රහ්ම පිරිස් මහ විසාල ප්‍රමාණයක් ඒ අවස්ථාවෙ හිටියා. අපේ මනුස්ස පිරිස් ගත්තම ඊට වඩා බොහොම අඩුයි. කොච්චර වුනත් ගුවනින් මල් ඉහිනකොට ඒ හෙලිකොප්ටර් යානය ඒ අයට බාධයි. ඉතින් ඒ අයගෙ සියුම් කයවල් අතරින් ලොකුවට ඝනීභවනය වෙච්ච හෙලිකොප්ටරයක් යනකොට ටිකක් බාධයි.

ආදාහනය දවසෙ මමත් අඬ අඬා බොහොම සංවේගයෙන් හිටපු නිසා හුඟක් දේවල් දැක්කෙ නෑ. ඒත් මම තවත් විශේෂ දෙයක් දැක්කා. ලොකු කළු පාට හැඩි දැඩි උස මහත අමනුස්සයෙක් වගේ කෙනෙක්, උන්වහන්සේගෙ දේහය පන්සලේ ඉඳල චිතකයට වඩම්මගෙන යනකොට පෙට්ටිය බදාගෙන පපුවට ගගහ සැහෙන්න ඇඬුවා. පන්සලේ ඉඳන් මීටර 200 - 300 ක් විතර දුරට යනකල් එහෙම අඬ අඬා තමයි ගියේ. සමහර විට මොනවහරි අවැඩක් කරල ගිහින් දැන් පසුතැවෙන කෙනෙක් වෙන්න පුළුවන්. එහෙම නැත්නම් උන්වහන්සේ නිසා මොනවහරි යහපතක් සිද්ධ කරගත්තු, ඒක දරාගන්න බැරිවෙච්ච කෙනෙක් වෙන්න පුළුවන්. ඒ දසුන හරිම සංවේගජනකයි. ඒක දැකල මටත් ඇඬුනා. ඒ සිද්ධිය මම පියවි ඇහින්ම දැක්කා. දෙවි දේවතාවොත් එදා හුඟක් ඇඬුවා. ඒත් මාර පාක්ෂික බලවේගවලට ළං වෙන්න බැරි වුනා. නමුත් උන්වහන්සේ රෝහලේ ඉදෙත්දි ඒ අය අවශ්‍ය ටික කරගත්තා. ඒ නිසා නැවත ඇඟිලි ගහන්න ආවෙ නෑ. ඉතින් මම ආදාහන භූමියෙදි දැකපු සිද්ධි ඔක්කොම දැක්කෙ ඇස් ඇරගෙන මේ මස් ලේ ඇස් දෙකෙන්මයි. හැබැයි ගෙදර ආවට පස්සෙ තමයි බැලුවෙ අර ධාතූන් වහන්සේලාට මොකද වුනේ කියල. ඒක බැලුවෙ ඇස් දෙක වහගෙන සමාධියෙන්. ඒ සිද්ධ වෙච්ච දර්ශනත් එක්කම ඒක සමාධියට ගෝචර වෙනවා.

ඉතින් උන් වහන්සේ මේ ලෝකයට දෙන්න ඕන උතුම්ම දේ දුන්නා. දැන් අපි අපේ වැඩේ කරගන්නයි අවශ්‍ය. මේ කය බිඳෙන්න පෙර අරිහත් ඵලය පූර්ණ කරගන්නව කියන අධිෂ්ඨානය ඇති කරගත යුතුයි. අපි උන්වහන්සේට කරන ඉහළම ගෞරවය තමයි ඒ. උන්වහන්සේ තවත් කාලයක් වැඩ හිටියත් අනිච්ච, දුක්ඛ, අනත්තම තමයි දේශනා කරන්නෙ. මම උන්වහන්සේව දකින්නෙ මේ විදිහට. ලොකු රූස්ස ගස්වලින් වට වෙච්ච පාළුවට ගිය මහ විසාල ගෙයක් තියෙනවා. ඒ ගස් නිසා ගෙට ඇතුල් වෙන්න බෑ. ලොකු දළ දෙකක් තියෙන ඇතෙක් ඒ සියලු ගස්වැල් බිමට සමතලා කරල දාල දොර අරිනවා. පිටිපස්සෙන් ඉන්න අනිත් අය වෙනුවෙන් පරිසරය හදනවා. ඒ වගේ මහ ඇතෙක් තමයි උන්වහන්සේ.

ඉතින් අරිහතුන් වහන්සේලා අඩු ගානෙ දාහක්වත් බිහි වුනොත් හොඳ කාලයක් එයි. එහෙම සිද්ධ වෙන ලකුණු තියෙනවා. රාග, ද්වේශ, මෝහ ප්‍රහීණ කරන ගමන් මාර්ගයේ හැමවෙලේම ඉන්න ඕන. තමන්ගෙ වැඩේ තමන් කරගත යුතුයි කියන තැන ඉන්න ඕන. මේ මනුස්ස ලෝකයේ දැන් අපි ඉපදිලා ඉන්නව කියන්නෙ හරියට ලොතරැයියක් ඇදුන වගේ. සතර අපායෙත් දිව්‍ය ලෝකවලත් ගොඩක් කල් ආයුස තියෙනවා. බ්‍රහ්ම ලෝකෙ ඊටත් වැඩිය ආයුස තියෙනවා. මනුස්ස ලෝකෙ ආයුස අද වෙත්දි 60 - 70 ක් තරම් අඩුයි. අපි මෙහෙම සතර අපා, දේව, බ්‍රහ්ම... ආදී වශයෙන් යටට උඩට ඇදිල තමයි නැවතත් මනුස්ස ලෝකෙට කැරකිලා අති දුර්ලභ වූ බුද්ධෝත්පාද කාලයක දුර්ලභව මනුස්ස අත්බවයක් ලබල ඉන්නෙ. මේ ගමන ඉවර කරගත්තොත් සියලු දුකෙන් නිදහස්.’’

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

සටහන
නීතිඥ චන්දන සිරිවර්ධන

# අරී සිතුම් සුව සෙත වෛද්‍ය සායනය



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 03

**අංගුත්තර නිකාය - 2**

77 පිටුව - ද්‍රෝණ සූත්‍රය

බුදුන් වහන්සේ දෙවි නෙවෙයි, ගාන්ධර්ව නෙවෙයි, යක්ෂ නෙවෙයි, මනුස්ස නෙවෙයි... ආදී වශයෙන් කළ දේශනාව ඇත.

129 පිටුව - පත්තකම්ම සූත්‍රය

ආර්ය ශ්‍රාවකයා පංච බලි දෙන බව සඳහන්ව ඇත. එනම් ඥාති බලි, අතිථි බලි, පූර්ව ප්‍රේත බලි, රාජ බලි, දේවතා බලි යන පසයි.

141 පිටුව - අධම්මික සූත්‍රය

**රජ අධාර්මික නම් රාජ පුරුෂයෝද අධාර්මික වෙත්. එවිට බ්‍රාහ්මණ ගෘහපතියෝ අධාර්මික වෙත්. එවිට ජනපද වාසීහු අධාර්මික වෙත්. එවිට චන්ද්‍ර සූර්යයෝ විසම වෙත්. එවිට නක්ෂත්‍ර තාරකාවෝ විසම වෙත්. එවිට දිවා රාත්‍රී විසම වෙත්. එවිට මාස අර්ධ මාසයෝ විසම වෙත්. එවිට ඍතු සංවත්සරයෝ විසම වෙත්. එවිට වාත වේගයෝ විසම වෙත්. එවිට දේවතාවෝ කුපිත වෙත්. එවිට මනා වැසි නොවසිත්. එවිට සශ්‍ය බෝග දුර්වල වෙත්. එවිට ඒවායින් යැපෙන මිනිස්සු අල්පායුස්ක වෙත්, රෝගී වෙත්, දුර්වර්ණ, දුර්වල වෙත්.**

147 පිටුව - අසත්පුරිස වධුකා සූත්‍රය

සත් පුරුෂයා අනුන්ගේ අගුණ ඇසුවත් නොකියයි. කිව යුතු තැනද පූර්ණව නොකියයි. මෙරමාගේ (අනුන්ගේ) ගුණ නොඇසුවත් කියයි. ඇසුවොත් වඩාත් ඔප් නංවා කියයි.

සත් පුරුෂයා තමාගේ අගුණ නොඇසුවත් පළ කරයි. ඇසුවොත් නොපිරිහෙලා කියයි. අසත්පුරුෂයා තමාගේ අගුණ පළ නොකරයි. ඇසුවත් පූර්ණව නොකියයි.

155 පිටුව - වනිජ්ජා සූත්‍රය

**වෙළඳාම් ආදියෙන් කෙනෙකුට ජය, කෙනෙකුට පිරිහීම ඇතිවීමටත්, කෙනෙකුට දියුණුව ඇතිවීමටත් හේතු සැරියුත් තෙරුන් විසින් විමසූ විට, ඊට හේතු දක්වා ඇත.**

සසරෙදි මහණ බමුණන්ට ප්‍රත්‍යයෙන් පවරා නොදෙයි. එසේ පවරා ටිකක් දෙයි. සමහරෙක් ප්‍රත්‍යයෙන් පවරා එසේ දෙයි. සමහරෙක් වැඩිමනත්ම දෙයි. ඔවුන් මෙකල මිනිසත්ව කරන ව්‍යාපාර ඒ අනුව පිරිහීම හෝ අභිවෘද්ධිය හෝ ලබයි.

175 පිටුව - පඨම සමාධි සූත්‍රය

මෙහි අර්පණා සමාධිය නොලබා සංඛාර පරිග්‍රාහික විදර්ශනා සමාධිය ලබන අය ගැන සඳහන් වේ.

259 පිටුව - සංයෝජන පුග්ගල සූත්‍රය

මෙහි උප්පත්ති පටිලාභය ප්‍රහීණ, භව පටිලාභී සංයෝජන ඇති අනාගාමීන් ගැන සඳහන් වේ.

261 පිටුව - ඵළපජීවී පුග්ගල සූත්‍රය

උත්සාහයෙන් කර්ම ඵලයෙන් දිවි ගෙවන, කර්ම ඵලයෙන් උත්සාහ නැතිව දිවි ගෙවන, උත්සාහයෙන් මිස කර්ම ඵල නැතිව දිවි ගෙවන, උත්සාහ නැතිව කර්ම ඵල නැතිව දිවි ගෙවන පුද්ගලයින් 4 ක් පෙන්වයි.

277 පිටුව - අසංඛ්‍ය සූත්‍රය

සතර අසංඛ්‍ය කල්ප පෙන්වා ඇත.

279 පිටුව - රෝග සූත්‍රය

කලින් කල කායික රෝග නැති බව පිලින කළත් චෛතසික රෝග නැත්තේ රහතුන්ටය.

283 පිටුව - භික්ඛුණී සූත්‍රය

කය අහරින් වැඩින. එනිසා අහර දුරු කිරීම නම් ප්‍රත්‍යවේක්ෂාවෙන් ආහාර වැළඳීමයි.

289 පිටුව - දෙවෙනි ප්‍රතිපදා සූත්‍රය

දුක්ඛා පටිපදා දන්ධාභිඥා, දුක්ඛා පටිපදා ඛිප්පාභිඥා, සුඛා පටිපදා දන්ධාභිඥා, සුඛා පටිපදා ඛිප්පාභිඥා පිළිබඳව විස්තර ඇත.

349 පිටුව - ද්විතීය වස්සකාර සූත්‍රය

අසත්පුරුෂයා, අසත්පුරුෂ - සත්පුරුෂ දැනගන්ට හේතු නැත. සත්පුරුෂයා, අසත්පුරුෂ - සත්පුරුෂ දැනගනී. මේ ගැන විස්තර ඇත.

471 පිටුව - ථූපාරහ සූත්‍රය

තථාගත, පසේ බුදු, ශ්‍රාවක බුදු, සක්විති රජ යන අය ථූපාරහ පුද්ගලයෝය. (සෑ බැඳ පුදන්නට නිස්සෝය.) ඒ ගැන විස්තර ඇත.

දීඝ නිකාය - 1

බ්‍රහ්මජාල සූත්‍රය - 62 ක් දෘෂ්ටි පිළිබඳව ඇත.

පූර්වාන්ත දෘෂ්ටි 18 - සාස්වත වාද 4 යි, ඒකච්ච සාස්වත / අසාස්වත වාද 4 යි, අන්තානන්ථික වාද 4 යි, අමරාවික්ෂේප වාද 4 යි, අධිච්ච සමුප්පන්න වාද 2 යි.

අපරාන්ත මිත්‍යා දෘෂ්ටි වාද 44 - සසඤ්ඤී වාද 16 යි, උද්ධමා ඝාතනික අසඤ්ඤී වාද 8 යි, උද්ධමා ඝාතනික නේවසඤ්ඤී නාසඤ්ඤී වාද 8 යි, උච්ඡේද වාද 7 යි, පරම දිට්ඨ ධම්ම නිබ්බාන වාද 5 යි.

**සාස්වත වාද 4**

1. ලෞකික දිවැස් ලබා පෙර ජාති බොහෝ දුර බලා ස්ථිරව සිටින සත්ත්වයෝ ඒ ඒ ජාතිවල සැරි සරමින් ආත්මයක් නොනැසී සැරි සරති යන දෘෂ්ටිය

2. සංවර්ථ විවර්ථ කල්ප 10 ක් දුර බලමින් නොනැසෙන ආත්මයක් ඇතැයි බැස ගන්නා දෘෂ්ටිය

3. බොහෝ කල්ප ගණන් බලමින් නොනැසෙන ආත්මයක් ඇතැයි බැස ගන්නා දෘෂ්ටිය

4. තර්කයක පිහිටා ආත්මයක් ඇතැයි බැස ගන්නා දෘෂ්ටිය

**ඒකච්ච සාස්වත / අසාස්වත වාද 4**

1. ලෞකික ධ්‍යානවලින් දිවැසක් ලබා මහා බ්‍රහ්මයා සමග සිටි කාලය සිහි කර බ්‍රහ්ම හා බ්‍රහ්ම ලෝකය ස්ථිරය, මනු ලොවට ආ අප සහ ඔහු මවා දුන් ලෝකය අස්ථිරය යන දෘෂ්ටිය

2. ඛිඩ්ඩාප දෝෂික දේව නිකායේ සිට චුතව ආ කෙනෙක් මෙහිදී ලෞකික දිවැස් නුවණින් ඒ දුරට සිහි කර ඒ දෙවියෝ ස්ථිරය, ප්‍රමාදය නිසා මෙහි ආ අප අස්ථිර යැයි දෘෂ්ටි ගැනීම

3. මනෝප දෝෂික නම් දේව නිකායෙන් චුතව මිනිසෙක්ව දිවැස් නුවණකින් එතෙක් සිහි කර ඒ දෙවියෝ ස්ථිරය, ද්වේශයේ ප්‍රමාද දෝෂයෙන් මෙහි ආ අප අස්ථිර යැයි ගන්නා දෘෂ්ටිය

4. අයෝනිසෝ මනසිකාර තර්කයෙන් ගත් මුළා වැටහීමෙන් පංචේන්ද්‍රියෝ අස්ථිරය, හිත මනස විඤ්ඤාණය යන මේවා ස්ථිර යැයි ගන්නා දෘෂ්ටිය

**අන්තානන්ථික වාද 4**

1. ළාමක වූ චිත්ත සමාධියකින් කසිණ නිමිත්ත උඩ යට වට සීමා සහිතව පතුරවා ලෝකය වටය සීමා සහිතය යන මිසදිටුව ගනී.

2. ඉහත ලෙස ගත් කසිණ නිමිත්ත අනන්තව පතුරවා ලෝකය අනන්ත යැයි දෘෂ්ටි ගනී.

3. එසේම උඩ යට සීමා සහිතවද සරස අනන්තවද පතුරවා ඒ දෘෂ්ටියෙන් ලොව උඩ යට සීමා සහිතය වටින් අනන්ත යැයි දෘෂ්ටි ගනී.

4. හුදු තර්ක මාත්‍රයෙන් නිගමනයකට බැස ලොව අන්තයක් ඇත්තේත් නැත නැත්තේත් නැත යන දෘෂ්ටිය

**අමරා වික්ෂේප වාද 4**

1. කුසල් අකුසල් වෙන් කර දැක ගන්නා නුවණ නැතිකමින් බොරුවට අසුවේ යැයි බියෙන් ස්ථිර වචනයක් නොකියයි.

2. මඳ නුවණ නිසා කුසල් අකුසල් නොදැනීමෙන්, ස්ථිරව පවසන්න ගියහොත් ඒ වාදයෙහි උපාදානයක් ඇති වේ නම් ස්වර්ග මෝක්ෂවලට බාධා වෙතැයි බියෙන් ස්ථිරව ප්‍රකාශ නොකරයි.

3. මඳ නුවණ නිසා කුසල් අකුසල් නිගමනය කළ නොහැකිව තීක්ෂණ තර්කවාදීන්ට පරාජය වේ යැයි බියෙන් ස්ථිරව නොකියයි.

4. මඳ නුවණින් යුතු නිසා අහන ප්‍රශ්න විසඳන්න නොහැකිව කිසි පිළිතුරක් ස්ථිරව නොදී, මට වැටහීමක් නැතැයි මග හැරීමේ දෘෂ්ටිය

**අධිච්ච සමුප්පන්න වාද 2**

1. අසඤ්ඤ සත්ත්ව දේව කායිකයෙක් ඉන් චුතව මිනිස්ව ඉපිද ලෞකික ධ්‍යානමය දිවැසකින් ඒ භවය පමණක් සිහි කර, ඊට වඩා නොපෙනීම නිසා ලෝකයත් සත්ත්වයාත් හේතු රහිතව ඉබේම පහළ වේ යැයි ගන්නා දෘෂ්ටිය

2. අයෝනිසෝ මනසිකාරයෙන් තර්ක වාදීන් බසින මුළා නිගමනයෙන් හේතු රහිතවම ලෝකයත් සත්ත්වයාත් පහළ වේය යන නිගමනය

**සසඤ්ඤ වාද 16**

නොනැසෙන සංඥාවක් ඇතැයි දෘෂ්ටි ගෙන එය ආත්මයයි නිගමනය කර,

1. ආත්මය රූපවත්ය, සංඥා සහිතය, මරණින් මතු ස්ථිරය.
2. ආත්මය අරූපය, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
3. ආත්මය රූපීද අරූපීද වේ, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
4. ආත්මයට රූප ඇත්තේද නැත නැත්තේද නැත, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
5. ආත්මය සීමා සහිතව පැතිරුනු දෙයකි, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
6. ආත්මය සීමා රහිතය, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
7. ආත්මය උඩ යට සීමා සහිතය, වටේට සීමා රහිතය, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
8. ආත්මය සීමා ඇත්තේද නැත්තේද නොවේ, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
9. ආත්මය එකාකාර සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
10. ආත්මය නානාවිධ සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
11. ආත්මය සීමිත සංඥා ඇත්තෙක, මරණින් පසු ස්ථිරය.
12. ආත්මය අසීමිත සංඥා ඇත්තෙක, මරණින් පසු ස්ථිරය.
13. ආත්මය ඒකාන්ත සැප ඇත්තෙක, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
14. ආත්මය ඒකාන්ත දුක් ඇත්තෙක, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
15. ආත්මය සුව දුක් දෙකම ඇත්තෙක, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.
16. ආත්මය සුව දුක් දෙකම නැත, සංඥා සහිතය, මරණින් පසු ස්ථිරය.

**උද්ධමාඝාතනික අසඤ්ඤී වාද 8**

1. ආත්මය රූපවත්ය, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
2. ආත්මය අරූපීය, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
3. ආත්මය රූපවත්ද අරූපවත්ද වේ, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
4. ආත්මය රූපීද නොවේ අරූපීද නොවේ, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
5. ආත්මය අන්තවත්ය, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.

6. ආත්මය අනන්තවත්ය, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
7. ආත්මය අන්තද වේ අනන්තද වේ, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.
8. ආත්මය අන්තද අනන්තද නොවේ, මරණින් මතු ස්ථිරය, අසඤ්ඤීය.

<u>උද්ධමාඝාතනික නේවසඤ්ඤී නාසඤ්ඤී වාද 8</u>

1. ආත්මය රූපවත්ය, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
2. ආත්මය අරූපී වේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
3. ආත්මය රූපීද අරූපීද වේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
4. ආත්මය රූපීද අරූපීද නොවේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
5. ආත්මය සීමා සහිත වේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
6. ආත්මය සීමා රහිත වේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
7. ආත්මය සීමා සහිතද රහිතද වේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.
8. ආත්මය සීමා සහිතද රහිතද නොවේ, මරණින් මතු ස්ථිරය, සඤ්ඤීද අසඤ්ඤීද නොවේ.

<u>උච්ඡේද වාද 7</u>

1. මේ කරජ කාය මරණින් මතු සිඳේ, යළි නොවේ.
2. කාමාවචර දෙව්ව මරණින් මතු සිඳේ, යළි නොවේ.
3. රූපී මනෝමය බ්‍රහ්ම කාය මරණින් මතු සිඳේ, යළි නොවේ.
4. ආකාසානඤ්චායතන බ්‍රහ්ම මරණින් මතු සිඳේ, යළි නොවේ.
5. විඤ්ඤාණඤ්චායතන මරණින් මතු සිඳේ, යළි නොවේ.
6. ආකිංචඤ්ඤායතන මරණින් මතු සිඳේ, යළි නොවේ.
7. නේවසඤ්ඤා නාසඤ්ඤායතන මරණින් මතු සිඳේ, යළි නොවේ.

<u>දිට්ඨ ධම්ම නිබ්බාන වාද 5</u>

1. පස්කම් සැප පිනවීමෙන් දිට්ඨ ධම්ම නිබ්බාන වේ.
2. ප්‍රථම ධ්‍යානයෙන් දිට්ඨ ධම්ම නිබ්බාන වේ.
3. ද්විතීය ධ්‍යානයෙන් දිට්ඨ ධම්ම නිබ්බාන වේ.
4. තෘතීය ධ්‍යානයෙන් දිට්ඨ ධම්ම නිබ්බාන වේ.
5. චතුර්ථ ධ්‍යානයෙන් දිට්ඨ ධම්ම නිබ්බාන වේ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## පෙර නොඇසූ දම් හඬ

භව සයුර තරණය කළ
පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර
මහ තෙරුන් වහන්සේ විසින්
ලෝක සත්ත්වයාගේ හිතසුව පිණිස
ගිහි වතක සිටියදී දේශනා කරන ලද
පැය දහසකට අධික කාලයකින් යුත්
මහත් ඵල මහානිසංස ගෙනෙන
පෙර නොඇසූ සදහම් දේශනා රැසක් අඩංගු
පැරණි කැසට් පට මාලාවක් අභාවයට යෑමට මත්තෙන්
මතු පරපුරේ මෙන්ම වත්මන් පරපුරේද යහපත පිණිස
කඩිනමින් සකස් කෙරෙමින් පවතින අතර
ලොව අතිදුර්ලභ වූ පටිභාන කවීත්වය මෙන්ම
සාමාන්‍ය දේශනා ශෛලියෙන්ද සමන්විත වූ
එකී දේශනාවෝ
වර්ෂ 2017 ක් වූ නිකිණි මස
පුර පසළොස්වක පොහොය දින සිට
වරින් වර සකස් කරන සැනින් එසැනින්...

YouTube ඔස්සේ
https://goo.gl/Z51ouN
සහ
http://mp3.hiddendhamma.net
වෙබ් අඩවිය ඔස්සේ පිංවත් ඔබට
සවන් දීමට හෝ
බාගැනීමට හෝ හැක.

මෙකී සදහම් දේශනා අඩංගු කැසට් පට මාලාවෝ මේ දක්වා ආරක්ෂා කළා වූත්, දැඩි වෙහෙස මහන්සියක් යොදා පිරිපහදුවට ලක් කොට පෙළ ගස්වා සකස් කර ඔබ අතට පත් කිරීමට නන් අයුරින් දායක වූ සහ දායක වන සියලු පින්වතුන්ටත්, එම දහම් හඬ ශ්‍රවණය කරන පින්වත් ඔබ සැමටත් මේ පින් කුසල් මෙලොව පරලොව අභිවෘද්ධියට සහ නිවන් සුව පිණිසම හේතු වේවා !

# ඩෙංගු වසංගතය වළක්වා ගැනීමේ දහම් මග සහ ඩෙංගු රෝගයට ප්‍රත්‍යක්ෂ හෙළ බෙහෙතක්!





මේ දවස්වල රටේ නාගරික සහ අර්ධ නාගරික ප්‍රදේශවල ඩෙංගු රෝගය තදින් පැතිරී ගෙන යන බව පෙනී යනවා. හෙළ බොදු පියුම 18 වන කලාපයෙන් මේ සඳහා ලබාදිය හැකි ප්‍රත්‍යක්ෂ සමාධිමය අත්බෙහෙතක් ගැන විස්තර පළ වුනා. ඩෙංගු රෝගය සම්බන්ධයෙන් සෞඛ්‍ය විද්‍යාත්මක කරුණු නම් හැම තැනින්ම අහන්න දකින්න ලැබෙනවා. නමුත් ඒ ගැන ධර්මානුකූල පැත්ත විග්‍රහ කිරීමක් අහන්න දකින්න නොලැබෙන තරම්. ඩෙංගු රෝගය සම්බන්ධයෙන් සෞඛ්‍ය විද්‍යාත්මක කරුණු ටිකක් මතක් කරන ගමන්, මේ රෝගයේ ධර්මානුකූල පදනම සහ ඒ සඳහා නොවරදින ප්‍රත්‍යක්ෂ හෙළ බෙහෙතක් ගැන ජනතාව දැනුවත් කිරීම තමයි මේ ලිපියේ අරමුණ.

## ඩෙංගු රෝගය කියන්නෙ මොකක්ද?

තද හිසරදය සමග පවතින උණ මේ රෝගයේ ප්‍රධාන ලක්ෂණයක්. නමුත් ඇතැම් අයට වමනය ආදී වෙනත් රෝග ලක්ෂණ එන්නත් පුළුවන්. සමහර කෙනෙකුට තදබල හිසරදයක් නොඑන්නත් පුළුවන්. උණ හැඳුන වෙනත් අවස්ථාවලට වඩා මේ අවස්ථාවෙදි නියම ලෙඩ පෙනුමක් රෝගියා තුලින් විද්‍යමාන වෙනවා. දින 03 කට වඩා උණ පවතිනව නම් වෛද්‍යවරයෙකුට පෙන්වීම මගින් රෝගී තත්ත්වය ගැන නිසි අදහසක් ලබා ගන්න පුළුවන්. ප්‍රබල වෛරස් උණ තත්වවලදි වගේ ඩෙංගු රෝග අවස්ථාවෙදිත්, රුධිර ගත පට්ටිකා ප්‍රමාණය [Platlet] අඩු වෙනවා. ඊට අමතරව සුදු රුධිරානු ප්‍රමාණයත් [WBC] අඩු වෙන්න පුළුවන්. ඒ වගේම රුධිරගත තරලයට සාපේක්ෂව සෛල පරිමාව [Packed Cell Volume (PCV)] වැඩි වෙන්න ගන්නවා. ඩෙංගු ප්‍රතිදේහකාරක පරීක්ෂාව [Dengue Antigen Test] මගින් ඩෙංගු වෛරසය ශරීරගත වෙලා තියෙනවද කියල හරියටම තහවුරු කර ගන්න පුළුවන්.

ඩෙංගු රෝගයේම තවත් ප්‍රභේදයක් තියෙනවා ඩෙංගු රක්තපාත කියල. ඒක තරමක් බරපතලයි. ඒ අවස්ථාවෙදි බොහෝ විට සම මතුපිට රතු ලප වගේ යමක් දකින්න පුළුවන්. මේ ඩෙංගු වර්ගයෙදි සමහර අයට අසාධ්‍ය තත්වයක් උදා වෙන්නත් පුළුවන්. මේ අවස්ථාවෙදි රුධිර පීඩනය වගේම නාඩිබලයත් අඩු වෙනවා. ඒ වගේම පටක තරලය උරස් සහ උදර කුහර ප්‍රදේශවල පිරෙන්න පුළුවන් කියන එක තමයි වෛද්‍ය මතය. අධි ධ්වනි ස්කෑන් පරීක්ෂණයකින් මේ තත්වය හරියටම දැන ගන්න පුළුවන්. මැනගත්තු නියමිත ප්‍රමාණයකට රෝගියාට ජලය ලබා දෙන අතර, මුත්‍රා මගින් පිට කරන ජල ප්‍රමාණයත් මැන ගත්තම ඒ තත්ත්වය නියාමනය කරගන්න පුළුවන් බව වෛද්‍ය විද්‍යාවෙන් පවසනවා. මේ අවස්ථාවෙදි රෝගියා ඉන්නෙ දැඩි අවදානම් තත්ත්වයක. මේ නිසා ඩෙංගු කියල සැකයක් ඇති වෙච්ච වහාම ළඟම තියෙන රෝහලක නේවාසික ප්‍රතිකාර සඳහා රෝගියාව යොමු කරන්න කියල සෞඛ්‍ය අංශ අවධාරණය කරනවා. මේ දක්වා කෙටියෙන් කරුණු හෙළිදරව් කළේ, ඩෙංගු රෝගය කියන්නෙ මොකක්ද කියන කාරණය සම්බන්ධයෙන් බටහිර වෛද්‍ය විද්‍යාත්මක අදහස.

ඩෙංගු රෝගය කියන්නෙ මොකක්ද කියල පූර්ණ අවබෝධයක් ගන්න නම් ඒකෙ ධර්මානුකූල පැත්තත් විග්‍රහ කරගන්න ඕන. බුදු දහමේ පෙන්වන හේතුඵල ධර්ම රටාව අනුව හේතුවක් නැතිව ඵලයක් විද්‍යමාන වෙන්න බෑ. අතීත භවවල කරපු යම් යම් පාප සංඛාර නිසා අද දවසේ අපට ලෙඩ දුක් කරදරවලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. **දැන් හටගෙන තියෙන ලෙඩක් හෝ වෙනත් ඕනෑම ඵලයක් ඒ විදිහට හට ගත්තෙ අතීතයේ මොන ආකාරයේ සිතිවිලි, ක්‍රියා, වදන් කිරීම හේතුවෙන්ද කියල තේරුම් ගන්න නිරුක්ති ඥානය තියෙන උත්තමයෙකුට පද නිරුක්ති ක්‍රමවේදය තුලින් පුළුවන්. පදය ඇතුලෙ මුළු කතන්දරයම තියෙනවා.**

කවුරු හරි වැඩකට නැතිව දඟලනකොට, කැගහනකොට, ඉස්සර ඉඳන් ව්‍යවහාර කරන සිංහල වචනයක් තියෙනවා, ඩෙගා නටනවා කියල. අඬහැර පානවා කියලත් කියනවා. බෙරයක් අරගෙන වැඩකට නැති අරුත් සුන් සිංදු කියල දඟලල, සමාජයට කරදරකාරී විදිහට හැසිරුනාමත් එහෙම කියනවා. ලොකුකම් පෙන්නගෙන කැගහල බොරු පොරොන්දු දීල දඟලල යන කොටත් කියන්නෙ, ඩෙගා නටල ගියා කියල. වචනය කොහෙන් ආවත් මෙන්න මේ සංඛාරය ඩෙංගු රෝගය හැදෙන්න මුල් වෙන බව ධර්මානුකූලව පෙනී යනවා. සමහර වෙලාවට, කෝ කිව්ව දේවල් කළාද කියල වෛරය ආශ්‍රය කරගෙනත් කැගහනවා. "එදා අපිට කැගහල කියල ගියේ ! අනේ අපි රැවටුනා. ඕකුන්ටනම් හොඳක් වෙන්න එපා!" මෙහෙම කියල වෛරය ඇසුරු කර ගෙන සාප කිරීම

පවා කරනවා. මේ විදිහට වෛරය ඇසුරු කළාම ඒකෙන් විසක් එනවා. ඒක තමයි වෛරස් රෝගයන්ට හේතුව. ක්ෂුද්‍ර දේවල් හෙවත් පහත් දේවල් කරන කොට, ක්ෂුද්‍ර ජීවී වෙලා උපදින්න වගේම ක්ෂුද්‍ර ජීවී පීඩා ඇති වෙන්නත් හේතු හැදෙනවා. **බුදු, පසේ බුදු, මහරහත්, සක්විති රජ, ඍෂිවරු වගේ මහත් ගුණ ඇති උතුමන්ගෙ සත් ඔවදන් දුරු කිරීමෙන් (මහ දේවල් දුරු කිරීමෙන්) මදුරුවා වෙලා උපදින්න හේතු හැදෙනවා.** ඒ ආකාරයට මහා ගුණ ඇති උතුමන්ගෙ සත් ඔවා දුරු කරමින්, වෛරය ඇසුරු කරගෙන පහත් විදිහට ජීවත් වුන නිසා මදුරුවෙක් වෙලා ඉපදුනත්, වෛරස් සම්බන්ධ කර ගන්න හේතු කාරකයක් ඇතිව තමයි ඒ ජාතියේ මදුරුවො උපදින්නෙ. ඩෙංගුවලටත් වෛරස් සම්බන්ධයක් එනවා. එහෙම හැදෙන ලෙඩේට කියනවා ඩෙංගු කියල.

පෙර භවවලදි අකුසල් කළත් ඒවා විපාක දෙන්න නම් ඊට අනුකූල පරිසරයක් හැදෙන්න ඕන. උදාහරණයක් විදිහට එදා ඩෙගා නටපු පාප ශක්තිය විපාක අවස්ථාවට එන්න නම්, ඒ ජාතියේ වැඩ ටිකක් මේ කාලයෙත් සමාජයේ වැඩි පිරිසක් අතින් සිද්ධ වෙන්න ඕන. එතකොට අනන්තරයේ තියෙන ඒ ජාතියේ කර්ම ඇදිල එන්න පසුතලයක් හෙවත් සමනන්තරයක් හදල දෙනවා. ඒක සිද්ධ වෙන්නෙ අභිධර්ම පිටකයේ එන සූවිසි පට්ඨානයේ විස්තර වන අනන්තර - සමනන්තර ප්‍රත්‍ය අනුව.

ඉස්සර මිනිස්සු ජීවත් වුනේ ලද දෙයින් සතුටු වෙලා. පසු කාලයක මිනිස්සුන්ගෙ මානසිකත්වය දූෂ්‍ය වුනාම, කොච්චර ලැබුනත් මදියි කියන තැනට ආවා. හැම තිස්සෙම තව මදියි කියන ඌණතාවයෙන් පෙළෙන්න ගත්තා. මේ මානසිකත්වයේ ඉඳගෙන සිතිවිලි, ක්‍රියා, වදන් නගනකොට වැඩෙන්නෙ ඌණතා සංඛාර. ඒකට හේතුව අවිද්‍යාව. අවිද්‍යාවට හේතුව අසත්පුරිස ඇසුර. අවිද්‍යාව ප්‍රත්‍ය කරගෙන යම් සංඛාර නැගුනම ඒකෙ පටිච්ච සමුප්පාද චක්‍රය මගදි නවත්වන්න බෑ, භව දක්වාම ක්‍රියාත්මක වෙනවා. ඊළඟට වෙන්නෙ ඌණතා විඤ්ඤාණ හැදිල ඒකටම ගත සිත නැමිල හිටීම (නාම රූප). ඇස, කන... ආදී ඉන්ද්‍රියන් ඒ ජාතියේ ඒවාම එකතු කරගන්න ස්ථාන හෙවත් අයස්ථාන කරගන්නවා (සළායතන). දැන් ඒවායින් ලැබෙන්නෙ ඌණතාවයට අදාළ ස්පර්ශ. ඒකෙන් ඌණතාවයක්ම වෙන බව දනවනවා (වේදනා). ඒ වේදනාවෙ ඉන්න ප්‍රියයි. ඒකට ඇලෙනවා (තණ්හා). තදින් ඇලිල බැඳිල උප හෙවත් ආසන්නයට ඇදිල හිටිනවා (උපාදාන). ඒක හේතු වෙන්නෙ ඌණතා භවකට. මේ ඌණතා භව කර්ම භවයේ පිහිටනවා. නැවත නැවත ඒවාම සිද්ධ කරන කොට ඒවා කර්ම භවයේ පිහිටල වැඩෙන්න ගන්නවා. විපාක අවස්ථාවට සුදුසු පරිසරය උදාවෙන කල් නාණාක්ෂණික කර්ම ශක්තිය විදිහට මේවා ධර්ම අවස්ථාවේ තැන්පත් වෙලා තියෙනවා.

ඒ විදිහට පෙර භවවලදි සිද්ධ කළ ආකාරයේ සංඛාර අදත් සමාජයේ වැඩි පිරිසක් සිද්ධ කරන කොට අනන්තරයේ තියෙන ඒ වගේ කර්ම වේග ඇදිල එන්න පසුතලයක් හැදෙනවා. සමාන දේට සමාන දේ ඇදිල එන න්‍යාය හෙවත් ගති ආකර්ෂණ නියමය අනුවයි එහෙම වෙන්නෙ. එතකොට ඒ ජාතියේ කර්ම පෙර සිද්ධ කළ අය කරා, ඌණතා භව විදිහට තැන්පත් වෙච්ච අකුසල විපාක ශක්තිය ඇදිල ඇවිත් ශරීරයේ ඌණතාවයක් හටගන්නවා. **ඌණතාවයේ ප්‍රතිඵලයක් විදිහට තමයි උණ කියන රෝග ලක්ෂණය මතුවෙන්නෙ.** එහෙම තමයි පටිච්ච සමුප්පාද ධර්මයට අනුව උණ හැදෙන විදිහ. ඩෙංගු භව සහ වෛරස් භව හැදෙන විදිහත් මේ ආකාරයටම පටිච්ච සමුප්පාද ධර්මයට අනුව තේරුම් ගන්න ඕන.

**උනුන් නසන වැඩ පිළිවෙලවල් පෙර ජාතිවල කරල තියෙනව නම්, ඒකත් උණ හැදෙන්න බලපාන හේතුවක්. එදා රාග, ද්වේශ, මෝහවලින් ලෝකයා රත්වෙන දේවල් කරපු නිසා අද අපට උණක් හැදුනම ඇඟ රත්වෙන්න ගන්නවා. ඇත්ත වසන් කරල බොරුවෙන්ම ජීවිතය ගත කරනව නම්, ඒ සංඛාරය වසංගතවලට හේතු වෙන බව පද නිරුක්ති ක්‍රම වේදය** අනුව පේනවා. කොහොමටත් හේතුවට අනුකූලයි ඵලය.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මෙහෙම 'ඌණතා' කියල සංඛාරයක් අපි අහලවත් නෑ, කොයි පොතේද ඕක තියෙන්නෙ කියල. පොත්වල නම් නෑ තමයි. මොකද පදවල අර්ථ කියවෙන නිරුක්ති වගේ ශ්‍රාවක ගෝචර දේවල් ඔක්කොම ත්‍රිපිටකයේ නෑ. හෙළ අටුවාවල නම් තිබුනා. අද ඒවා එක පත් ඉරුවක්වත් හොයාගන්න නෑ. ඌණතා බව, ඩෙංගු බව, වෛරස් බව වශයෙන් සඳහන් කළේ, ඒ ඒ සංඛාර නිසා හට ගන්නා භවයන් හඳුනා ගැනීමේ පහසුවට. යමක් දිහා දහමට අනුව බලන්න පුරුදු වුනාම දහම් පේන්න ගන්නවා. යම් කෙනෙක් කරන විග්‍රහයක් දහමට ගැලපෙනව නම්, ඒක පටිච්ච සමුප්පාද ධර්මයට එකඟ වෙන්න ඕන, සූත්‍රයට ගැලපෙන්න ඕන, විනයට බහා බැලුවම බහා හිටින්න ඕන. උණ කියන අසනීපය හැදෙන විදිහ පටිච්ච සමුප්පාද දහම ඇසුරින්ම විග්‍රහ කරපු නිසා නිසා ඒකට ගැලපෙන බව අමුතුවෙන් පෙන්වන්න දෙයක් නෑ. සූත්‍රය කිව්වෙ සිවු අරිසස්වලට (චතුරාර්ය සත්‍යයට).

දුක කියන්නෙ මොකක්ද, දුකට හේතුව මොකක්ද, දුක නැති කරන්නෙ කොහොමද, දුක නැති කරන මාර්ගය මොකක්ද කියල දැක ගන්නා ඥාන කියන සිවු අරිසස් දහම් කොටස් සමග මනා ගැලපීමක් මේ විග්‍රහයේ තියෙන බව විමසීමෙන් බැලුවම පෙනේවි. සිවු අරිසස්වල ස්වභාවය තමයි, එකක් දැකගත්තම ඉතිරි තුනත් දකගන්න ලැබීම. දැන් ඩෙංගු උණ කියන්නෙ මොකක්ද කියල දහමට අනුකූල විග්‍රහය කියවන කොට, ඩෙංගු උණට හේතුව මොකක්ද, ඩෙංගු උණ නැති කරන්නෙ කොහොමද, ඩෙංගු උණ නැති කරන මාර්ගය මොකක්ද කියන ඉතිරි කාරණා තුන ගැනත් යම් අදහසක් හිතට නැගෙන්න ඕන.

ඊළඟට මේ කරන විග්‍රහයන් දහමට ගැලපෙනව නම් රාග විනය, ද්වේශ විනය, මෝහ විනය කියන 3 ට බහා හිටින්න ඕන. මූලික දහම් අවබෝධයක් තියෙන කෙනෙකුට "මේ අසාර ලෝකයේ මම මොකට ඩෙගා නටනවද? මම මොකට ලෝකයා කෙරෙහි වෛරයෙන් කටයුතු කරන්නද? අසීමිතව වස්තුව ගොඩගහ ගන්නෙ මොකටද? ඔය කාල බීල ලෝකයට යුතුකමක් කරගෙන ජීවත් වෙන්න යමක් තිබුනම මදැයි.. මේ ආදී වශයෙන් අදහසක් එනවා. රාගය, ද්වේශය, මෝහය මාත්‍රයක් හරි අඩුවෙනව නම්, මේ විග්‍රහය විනයට සැසඳෙන බව තේරුම් ගන්න ඕන. ලෙඩ රෝගයක් තුලින් වුනත් දහම් මග වඩාගන්න මූලික දහම් අවබෝධයක් තියෙන ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙකුට පහසුවෙන්ම පුළුවන්. පෙර අපේ මුතුන් මිත්තන් ගෙදර දොර වැඩ ටික කළෙත් ධර්මානුකූලව උපමා සංසන්දනය කරන ගමන්මයි. නිවන් දකින ආර්ය දහමක් අහල සෝවාන් ඵලයට පත් වුනාට පස්සෙ තමන්ගෙ ජීවිතයේ එදිනෙදා වැඩ කටයුතු තුලින්ම ධර්මය දැක ගෙන තමයි එදා අපේ රටේ හිටපු

අයගෙන් වැඩිම පිරිසක් ඉතිරි මග ඵල පූර්ණ කරගෙන නිවී සැනසී ගියේ.

## ඩෙංගු රෝගයට හේතුව මොකක්ද?

මේ රෝගයට හේතුව වෛරසයක් කියලයි සෞඛ්‍ය විද්‍යාත්මකව පෙන්වා දෙන්නෙ. එක්තරා විශේෂ දෙකකට අයත් මදුරුවන් ලේ උරා බොනකොට උගේ බේටය සමග මේ වෛරසය මිනිස් සිරුරට ඇතුල් වෙනවා. ඩෙංගු වෛරසය අපේ සිරුරට ඇතුළු වෙන්න හේතු වෙන මේ වර්ග දෙකට අයත් මදුරුවන්ට ඩෙංගු මදුරුවන් කියල කියනවා. ඩෙංගු වර්ගයේ මදුරුවෙක් වුනත්, අදාළ ඩෙංගු වෛරසය උගේ ශරීරයේ නැත්නම් ඌ දෂ්ඨ කළා කියල ලෙඩේ හැදෙන්නෙ නෑ. මේ විශේෂ දෙකෙන් එක වර්ගයක් සාමාන්‍යයෙන් බිත්තර දාන්න කලින් ලේ බොන්නෙ එක වතාවයි. නමුත් අනෙක් වර්ගය බිත්තර දාන්න කලින් කිහිප වතාවක්ම සැරින් සැරේ ලේ උරා බොනවා. මේ හේතුව නිසා දෙවෙනියට සඳහන් කළ වර්ගයේ වෛරස් ආසාදිත මදුරුවෙක්ගෙන් එකම නිවසේ කිහිප දෙනෙකුට වුනත් එකවර ඩෙංගු වැළඳීමේ අවදානමක් තියෙනවා.

මේ වෛරසය මදුරුවගෙ බිත්තර කරාත් පැතිරෙන නිසා, ආසාදිත මදුරුවෙක් දාන බිත්තරයකින් බිහිවන හැම කීටයෙකුටම වෛරසය ඇතුල් වෙනවා. මේ කාරණයත් රෝගය වේගයෙන් ව්‍යාප්ත වෙන්න විශේෂයෙන් බලපානවා. එක මදුරුවෙක් වරකට අණ්වීක්ෂ මට්ටමේ ඉතා කුඩා බිත්තර විසාල ප්‍රමාණයක් දානවා. ගැහැණු මදුරුවා ඒවා වතුර රැඳෙන භාජනවල ඇතුලු දාරයේ වතුර මට්ටමට ඉතාම ආසන්නයෙන් වටේට අලවල තමයි තියන්නෙ. ඒ නිසා භාජනයේ වතුර ටික හිඳිල ගියා කියල මේ බිත්තර විනාස වෙන්නෙ නැතිව යම් කාලයක් තියෙනවා. නැවත වැස්සෙන් හෝ වෙනයම් ආකාරයකින් හෝ භාජනයට වතුර පිරුනම බිත්තර පුපුරල මදුරු කීටයන් බිහිවෙන්න ගන්නවා.

උදාහරණයක් විදිහට හිස් කිරි හට්ටියක වතුර එකතු වෙලා වතුර ටික අස්කරල තිව්ව කියල හිතමු. මේ වෙන කොට මදුරුවා කිරි හට්ටියේ ඇතුල් පැත්ත දාරය වටේට බිත්තර අලවල තිබුන නම්, ඒවා නිරුපද්‍රිතව තිබිල නැවත හට්ටියට වතුර එකතු වෙච්ච වෙලාවක බිත්තර බිඳිල කීටයන් බිහි වෙන්න පුළුවන්. බල්ලන්ට, බළලුන්ට, කුරුල්ලන්ට වතුර තියන භාජන මේ අනුව වතුර මාරු කිරීමෙන් නවතින්නෙ නැතිව දින 2 - 3 කට වරක්වත් භාජනයේ ඇතුලු දාරය වටේට යමකින් හොඳින් අතුල්ලල සෝදා හරින්න ඕන. එහෙම නැත්නම් වතුර මාරු කිරීම දිනපතාම කරන්න ඕන. මේ සාකච්ඡා කළේ, ඩෙංගු උණට හේතුව මොකක්ද කියන කාරණය ගැන බටහිර වෛද්‍ය විද්‍යාව පැත්තෙන්.

ඩෙංගු රෝගය කියන්නෙ මොකක්ද කියල කලින් දැන ගත්ත කාරණාත් එක්ක චතුරාර්ය සත්‍යයට ගලපල බලනකොට, ඩෙංගු රෝගයට හේතුවත් දැන් යම් මට්ටමකට වැටහෙන්න ඕන. අතීත භවවලදී, තව මදි මදි කියල ඌණතා මානසිකත්වයෙන් ඩෙඟා නටල, වෛරය ඇසුරු කරගෙන කාය සංඛාර, වචී සංඛාර, මනෝ සංඛාර කළාම පටිච්ච සමුප්පාද දහම අනුව ගොඩ නැගෙන ඩෙඟා ඌණතා බව කර්ම භවයේ නානාක්ෂණික කර්ම ශක්තියක් විදිහට තැන්පත් වෙනවා. ඒකට තමයි අනන්තරය කියන්නෙ. මේ හේතුව එදා හදල තිබුනෙ නැති කෙනෙකුට, අද කවුරු පසුතලය හදල දුන්නත් ඩෙංගු උණ හැදෙන්න විදිහක් නෑ. හැබැයි අනන්ත සසර ගමනෙදි අපි මේ මූල හේතුව හදල නෑ කියල කාටවත් කියන්න බෑ. එහෙම හේතු හදල තිබුණත්, මේ අවස්ථාවෙ ඩෙංගු උණ හැදෙන්න ආසන්න හේතුව තමයි සමාජයේ වැඩි පිරිසක් සිදු කරන ඊට අදාළ සංඛාර. එතකොට ඒ වර්ගයේ දේවල් අනන්තරයෙ තිබිල ඇදිල එන්න පසුතලය හැදෙනවා. සමාන දේට සමාන දේ සම්බන්ධ වන න්‍යායක් තියෙනවා. ගඟක ඉවුරකට ගියත් ඒ කාරණය බලාගන්න පුළුවන්. ඉවුරෙ තියෙන දර කොට ගොඩට පා වෙලා ආපු දරකොට ටික එකතු වෙලා. රොඩු ගොඩට ගඟේ පාවෙලා ආපු රොඩු ටික එකතු වෙලා. ගල් ගොඩට ගල් ටික එකතු වෙලා. රළු වැලි ගොඩට රළු වැලි එකතු වෙලා. සියුම් වැලි ගොඩට සියුම් වැලි එකතු වෙලා. මිනිස්සු වුනත් එහෙමයි. ගුණවතාට ගුණවතා එකතු වෙනවා. නැණවතාට නැණවතා එකතු වෙනවා. ඒ තමයි ගති ආකර්ෂණය.

අද අපි ඵලයට අකමැති වුනාට, එදා හේතුව හැදුවෙ උඩ පැන පැන හිනා වෙවී. ඒ නිසා අකමැත්තෙන් වුනත් අද දවසේ ලැබෙන ඵලය බාරගන්න වෙනවා. ඉතින් **මේ වගේ ඩෙඟා ඌණතා සංඛාර රටේ කෙරෙනකල් ඩෙංගු හැදෙන්න ඕන පසුතලය නිරන්තරයෙන්ම ලැබෙන නිසා, ඩෙංගු උණ වසංගතය මර්දනය කරන්න මොන ජගතටවත් බැරි වෙලා තියෙනවා.** නමුත් මේ වගේ ලොකු විපත්තිදායක තත්වයක් උදා වුනාම, අවබෝධයක් නැතිව වුනත් ධර්මානුකූල ගති සම්පත්තියක් ඉබේම හැදෙන ක්‍රමයකුත් තියෙනවා. උදාහරණ විදිහට ගත්තොත්, අතීතයේ ඉඳන් කටයුතු කර ගෙන ආපු **යහපත් ආරෙන් පිට ගිහින්, පිට දේසක්කාරයන්ගෙ නොමනා සංකර දේවල් වැද්දගෙන පිට ආරෙට වැඩ කළාම, ඇළ දොළ ගංගා පිටාර ගලල, ගං වතුර ආදිය ඇවිත්, ගෙවල් දොරවල් ගම් බිම් යට වෙලා මහා විපත්තියක් වෙන්න හේතු වෙනවා.** එහෙම ලොකු විනාසයක් වුනාම, රටේ වැඩි පිරිසක් තම තමන් කර කර හිටපු අයහපත් වැඩ ටික තාවකාලිකව හරි නවත්තල, වෙච්ච දේ ගැන සංවේගයට පත් වෙලා, විපතට පත් වෙච්ච අය ගැන දයාවෙන් අනුකම්පාවෙන් උදව් කරන්න පටන් ගන්නවා. එතකොට අර කලින් සඳහන් කළ ආකාරයට ගති සම්පත්තිය උදාවෙලා, පවතින විපත්තිදායක තත්ත්වය සමනය වෙලා යනවා.



රටේ පාලනයට සම්බන්ධ දේශපාලන කොටස්වල ඉඳල පහළම පුරවැසියා දක්වා හැම මට්ටමකටම අයත් පිරිසෙන් වැඩි දෙනෙක්, අඩු වැඩි වශයෙන් ඩෙංගු රෝගය සඳහා පසුතලය හදමින් ඉන්න බව පේනවා. කලින් සඳහන් කළා වගේ මැතිවරණ සමයේ

මේ ඩෙංගා නැටීම ජයටම කෙරෙනවා. දැනට තමන්ට තියෙන සම්පත් මදි නිසා, ඇතිවෙන්න හම්බ කර ගන්න අපට බලය දීපල්ල කියන අදහසින් එක පිරිසක් ඩෙංගා නටනවා. ඊළඟට දිනපු ගමන්, තමන්ට මදිපාඩු වස්තුව හම්බ කරගන්න අපට මග පෑදුනා කියල සතුටට ඩෙංගා නටනවා. ඒ කියන්නෙ බෙර ගහල කෑ ගහල සමාජයට හිරිහැර වෙන විදිහට බොරුවට දඟලනවා. මැතිවරණයෙන් පරාද වෙච්ච කොටස්, අපිට ඌණ සම්පත් පුරවගන්න අවස්ථාව නොලැබුණා කියල දුක් වෙලා ජයගත්තු අය කෙරෙහි ද්වේශයෙන්, මුං වංචනිකයි දින්නෙ කියල උද්ඝෝෂණය කර කර ඩෙංගා නටනවා. සමහර විට මැතිවරණ කාර්යාලවලටත් කඩා වැදිල ඩෙංගා නැටුව කියල ඒ කාලෙට පත්තරවලත් වාර්තා වෙනවා. මේ අතරෙ තමන්ගෙ දායකත්වය රටේ යහපත වෙනුවෙන් අවංකවම ලබා දෙන අදහසින් දේශපාලනයේ යෙදෙන ඉතාම සුළු පිරිසක් ඉන්න පුළුවන්. එහෙම අයට කවදාවත් මෙහෙම ඩෙංගා නටන්න උවමනාවක් නෑ.

රජයක් පිහිටෙව්වට පස්සෙත් වැඩ වර්ජන ආදියට පිරිස පොළඹවන්න පැරදුන අය උත්සාහ කරනවා. ඒ අයගෙ උසි ගැන්වීම මත ආයතනවල වැඩ කරන අයත් තමන්ට මදියි කියල ඌණතාවයක් හදාගෙන පාරට බැහැල, දියව් දියව් කියල උද්ඝෝෂණය කරනවා. තමන්ට මොනව හරි දෙයක් මදියි කියල, මොනවා හෝ ඌණතාවයක් පූර්ණ කරගන්නම තමයි මේ උද්ඝෝෂණ වැඩ වර්ජන ආදිය කර කර ඩෙංගා නටන්නෙ. නමුත් පාරවල් වහගෙන කරන මේ ඩෙංගා නැටිල්ලෙන් සමාජයට මහා පීඩාවක් එනවා. අමාරු ලෙඩෙක්ව රෝහලකට ගෙනියන්නවත් ඉඩක් නෑ. මනුස්සයෙකුට වැඩ ඇරිල ගෙදර යන්න නෑ. මෙහෙම සඳහන් කරන කොට ඇතැමෙක් කියන්න පුළුවන්, ආණ්ඩුව අපේ ඉල්ලීම් දෙන්නෙ නැත්නම් අපි වෙන මොනවද කරන්නෙ කියල. ඒ කතාව හරි වෙන්න පුළුවන්. නමුත් මේ පෙන්වා දෙන්නෙ, සියලු දෙනාම එකතු වෙලා මේ ආකාරයට වඩන්නෙ ඩෙංගා ඌණතා සංඛාර නිසා, ඒ අය දැන හෝ නොදැන කරන්නෙ තමන්ගෙ දරුවන්, දෙමාපියන්, සහෘද හිතවතුන්, භික්ෂූන් වහන්සේලා, අන්‍ය ආගමික පූජකතුමන්ලා ඇතුලු සමස්ත ජනතාවටම ඩෙංගු උණ හැදීමට අවශ්‍ය වටපිටාව හදල දෙනව කියන කාරණය.

**සමහර අය කරන කටයුතු දිහා බැලුවම පේන්නෙ, මැයි දින සැමරුමත් දැන් එක්තරා විදිහක ඩෙංගා නැටීමක් කියල. පාසල් අතර ක්‍රිකට් තරඟ පවත්වන කාලයටත් නගරයේ වීදිවල ඉඳලම පේන්න තියෙන්නෙ ඩෙංගා නැටිලි තමයි. කවුරු කළත් යුධ සැමරුම් කියල එක පැත්තක් අරගෙන කරන සැමරීම්වලින් පවා නැගෙන්නෙ ලෝභ, ද්වේශ, මෝහ සිතිවිලි. ඒවත් ඩෙංගා නැටීම් තමයි.** ඉතින් කොච්චර අස් කළත් ගම්බද ප්‍රදේශවල වතුර රැඳෙන තැන් ඉවරයක් කරන්න බෑ. බැලුවම මදුරුවොත් ඉන්නවා. ඒත් ඩෙංගු මදුරුවන් හමු වෙන්නෙ බොහොම කලාතුරකින්. වතුර රැඳෙන තැන් ඉවත් කරල, හොඳට සුද්ද පවිත්‍රව තියාගෙන ඉන්න නගරයේම තමයි ඩෙංගු රෝගීන් වැඩිපුරම වාර්තා වෙන්නෙ. මේ වෙනසට හේතුව, නාගරිකව ඩෙංගා නැටීම සාපේක්ෂව වැඩියෙන් සිදුවන නිසා කියල අවබෝධ වෙන්න ඕන. **මේ වගේ ඩෙංගා නැටීම් රටේ බහුලව සිද්ධ වෙච්ච කාල වකවානු සිහි කරල බැලුවම පෙනී යන කාරණයක් තමයි, ඊට මාස 6 ක් විතර ගියාම ඩෙංගු රෝගය ඇතුළු විපත්තිදායක තත්වයක් හිස ඔසවල තියෙන බව.**

අද කාලෙ අවුරුදු උත්සවයක්, මගුල් ගෙයක්, විවිධ ප්‍රසංගයක් හෝ වෙන යම් උත්සවයක් වුනත් එදා තාලෙට නෙවෙයි කෙරෙන්නෙ. උත්සවය අවසානයේ බැලුවම බිම හැම තැනම පොලිතින් මලු, ප්ලාස්ටික් කෝප්ප සහ වෙනත් අපද්‍රව්‍ය තැන් තැන්වල ගොඩ ගහල. මත්පැන් බීල මත් වෙච්ච අය අවට බඩුමුට්ටුත් පොඩි කරල, හරියට ඩෙංගා නටල වගේ තමයි. මේ කාරණාත් ඩෙංගු උණ හැදෙන්න අවශ්‍ය පසුතලය හදල දෙන බව ධර්මානුකූලව තේරුම් ගන්න ඕන.

## ඩෙංගු රෝගය නැති කරන්නෙ කොහොමද?

කීට විද්‍යා සහයෙන් හෝ වෙන යම් ආකාරයන්ගෙන් හෝ ඩෙංගු මදුරුවන් ඉන්න තැන් හඳුනගෙන සුහුඹුල් සතා විනාස කිරීමත්, බිත්තර දමන්න පුළුවන් තැන් නැති කරල දැමීමත් තමයි ඩෙංගු රෝගය නැති කරන්න දැනට සාමාන්‍යයෙන් කරගෙන යන වැඩ පිළිවෙල. කාලයක් තිස්සේ මේ ක්‍රමවේදය අනුගමනය කළත්, මෑත කාලයේ අසීමිතව ඩෙංගු වර්ධනය වීම නිසා ඒ ක්‍රමවේදය කොච්චර දුරට සාර්ථකද කියල හොයල බලන්න ඕන.

මේ කාරණය මදුරුවාට වඩා වෛරසයේ ප්‍රශ්නයක් නිසා, වෙනත් රටවල විවිධ බැක්ටීරියා සහ වෛරස් වර්ග යොදා ගෙන කරන පරීක්ෂණවලින්, මදුරුවන් ඩෙංගු වෛරස් ආසාදනයෙන් වළක්වා ගැනීමේ ක්‍රමෝපායන් ගැනත් සොයා බලන බව වාර්තා වෙනවා.

බොහෝ වෛරස් රෝගවලට වගේම ඩෙංගු රෝගය සඳහාත් බටහිර වෛද්‍ය විද්‍යාව තුලින් නිශ්චිත ප්‍රතිකාරයක් සොයාගෙන නෑ. රෝගය සුව වීම සිද්ධ වෙන්නෙ සිරුර තුලින්ම රෝග කාරකයට එරෙහිව ප්‍රතිදේහ නිපදවා ගනිමින් කරන ස්වයං සුව වීමේ ක්‍රියාවලියකින්. රෝගියා ඇඳ විවේකයේ තියල වෙනත් සංකුලතා ගැන අවධානයෙන් ඉඳගෙන ඒවා පාලනය කිරීම විතරයි සිද්ධ කරන්න පුළුවන්. **මදුරු දැල් හෝ වෙනත් උපක්‍රම මගින් ඩෙංගු රෝගීන් මදුරුවන්ට නිරාවරණය නොවෙන විදිහට තියන්න පුළුවන් නම්, රෝගය ව්‍යාප්ත වීම පාලනයට ඒකත් උදව් වෙනවා.**

ඒ නිසා ධර්මානුකූල විසඳුම විදිහට රටේ වැඩි පිරිසක් ඩෙංගා නටන්නෙ **නැතිව, ලද දෙයින් සතුටු වෙන මානසිකත්වය තුල කරුණා මෛත්‍රී සිත් ඇතිව කටයුතු කළොත්, ඩෙංගු රෝගය වැළඳීමට අවශ්‍ය සමාජ පසුතලය නැතිවෙන නිසා ඩෙංගු රෝගය සම්පූර්ණයෙන් මැඩ පවත්වන්න පුළුවන් බව ධර්මානුකූලව පෙනී යනවා.** ගෙවතුවල අනවශ්‍ය විදිහට වතුර එකතු වෙන තැන් නැති කරල, නිවස සහ ඒ අවට පිරිසිදු කර ගැනීමත් වැදගත්. ඩෙංගු රෝගීන් ඇඳ විවේකයෙන් ඉන්න ගමන් මෙත් භාවනාවත් සිද්ධ කරනව නම් ඒකත් වෛරස් ආසාදනයෙන් එන පීඩා සමනය වෙලා ඉක්මන් සුවය ලබන්න හේතු වෙන බව කියන්න ඕන.

## ඩෙංගු රෝගය නැති කරන මාර්ගය මොකක්ද?

මේ සඳහා සෞඛ්‍ය අංශ විසින් සුහුඹුල් සතා විනාස කරන්න දුම් ගැසීමත් කරන ගමන්, මදුරු බිත්තර බෝවන ස්ථාන ඉවත් කරන්න ජනතාව උනන්දු කරන අතරම දඩ ගැසීම... ආදී නීතිමය ක්‍රියා මාර්ගත් ගන්නවා. දැන හැඳුනුම්කම, අල්ලස සහ දේශපාලන බලපෑම යනාදිය නිසා සෞඛ්‍ය බලධාරීන්ට අපේ රටේ නීතිය හරියට ක්‍රියාත්මක කරන්න පුළුවන් වට පිටාව අඩු බව පේනවා.

දුමාරයට යොදන රසායනිකවල ප්‍රමිතිය බාල වුනොත්, මදුරුවා විනාස වීම වෙනුවට පලායාම සිද්ධ වෙලා වෙනත් ප්‍රදේශවලට රෝගය පැතිරීමෙන් ගැටළුව තවත් ව්‍යාකූල වෙන්නත් පුළුවන්. අනෙක් කාරණය තමයි මේ දුම නිසා විනාස වෙන්නෙ මදුරුවන් විතරක් නෙවෙයි, මී පැණි නම් අනර්ඝ ඖෂධය නිපදවන මී මැස්සොත්, පරාග පෝෂණය සඳහා මී මැස්සන්ට අමතරව උදව් කරන සමනල්ලු ඇතුලු කෘමි විශේෂ විසාල ප්‍රමාණයක් විනාස වෙනවා. කෘමි සතුන් විනාස වීම නිසා ආහාර නැති වීමෙන් ශ්‍රී ලංකාවට ආවේණික තවත් සත්ව කොටස් මියයන්න පුළුවන් බව පරිසරවේදීන් පෙන්වා දෙනවා. පරාග පෝෂණ ගැටළු හේතුවෙන් විසාල ආහාර හිඟයකටත් මංපෙත් විවර වෙන්න පුළුවන්. පරිසර විද්‍යාත්මක සහ සෞඛ්‍ය විද්‍යාත්මක කියන මේ කොයි අංශයෙන් බැලුවත්, දුම් යෙදීමේ ක්‍රියාවලිය විසාල අනිටු ප්‍රතිඵල ලබන්න හේතු වෙනවා. වැඩිපුරම මදුරුවන්ව ආහාරයට ගන්නා බත්කූරන් ඇතුලු කෘමි විශේෂත් මේ දුමාරය නිසා විනාස වෙන නිසා, ඵලදායිතා පැත්තෙන් බැලුවත් මේ දුමාරය යෙදීම අසාර්ථක බව පේනවා.

කිසියම් ප්‍රදේශයක ඩෙංගු රෝගීන් කිහිප දෙනෙක් හමු වුනාම, ඒ පැත්තෙ දුම් ටිකක් ගැහුවෙ නැත්තම් ප්‍රදේශවාසී සමහරුන්ට හිතට ටිකක් අමාරුයි. ඩෙංගු රෝගීන් වාර්තා වෙලත් කිසිම ක්‍රියා මාර්ගයක් ගත්තෙ නෑ කියල ප්‍රදේශයේ සෞඛ්‍ය බලධාරීන්ට විරුද්ධව ඉහළ නිලතලවල ඉන්න අයට පැමිණිලි කරනවා. එහෙම වෙනකොටත් ප්‍රදේශයේ ප්‍රජා සෞඛ්‍ය නිලධාරීන් අකමැත්තෙන් වුනත් දුමාරය යොදන්න පෙළඹෙන්න පුළුවන්.

දියකඩිති, කඩොලාන, වගුරු බිම්, මඩ වගුරු, කුණු කාණු, ඇළ මාර්ග සහ ගස්කොළන්වල තියෙන ජලය එකතු වන ස්ථාන වගේ ස්වභාවිකව පිහිටි ජල මූලාශ්‍රවල ඩෙංගු මදුරුවන් වාර්තා වෙන්නෙ ඉතාම අඩුවෙන්. ඩෙංගු මදුරුවන් 85% කට වඩා නිරීක්ෂණය වෙන්නෙ හිස් යෝගට් කෝප්ප, වැහි පීලි සහ වෙනත් ගෙවතු ආශ්‍රිත අබලි භාජන වගේ මිනිස් ක්‍රියාකාරීත්වය නිසා ඇති වෙච්ච කෘත්‍රිම ජල මූලාශ්‍රවල බව කීට විද්‍යා සමීක්ෂණයන්ගෙන් අනාවරණය වෙනවා. බෝතල් මූඩියකත් මදුරුවාට බිත්තර දාන්න පුළුවන් නිසා මේ ක්‍රමය 100% ක් සාර්ථක නැතත්, තමන්ගෙ නිවස සහ නිවස අවට කෘත්‍රිමව ජලය රැඳෙන තැන් ගැන අවධානයෙන් ඉඳල, ඒවායේ අනවශ්‍ය විදිහට වතුර නොරැඳෙන්න කටයුතු කරන ගමන් අපි අපේ යුතුකම ඉටු කරන්න ඕන. මේ වගේ අවස්ථාවක සෞඛ්‍ය බලධාරීන්ට උදව් කිරීම රටේ හැම දෙනාගෙම යුතුකමක්.




ඩෙංගු මර්දන ක්ෂේත්‍ර කටයුතුවල යෙදවීම සඳහා අවශ්‍ය සෞඛ්‍ය නිලධාරීන්ගේ හිඟකම නිසා විවිධ ස්වේච්ඡා පිරිස් සහ වෙනත් ආයතනවල නිලධාරීන් යොදවා ගන්න බව පේනවා. අනවබෝධය නිසා ඒ අය දෙන සමහර වැරදි උපදෙස් හේතුවෙන් විවිධ පාරිසරික සහ සෞඛ්‍ය ගැටළු උදා වෙන්න පුළුවන් කියල පරිසරවේදීන් චෝදනා කරනවා. ගෙවත්තේ සියලුම ගස්කොළන් කපන්න කියල දුන්න උපදෙස් අනුගමනය නොකළ නිසා නීතිමය ක්‍රියාමාර්ග ගත් අවස්ථාත් වාර්තා වෙනවා. ඒ වගේම පොලිතීන්, ප්ලාස්ටික් සහ ඉලෙක්ට්‍රොනික උපාංග පවා පුළුස්සල දාන්න උපදෙස් දීල තියෙනවා. මේවා දවන කොට පෙණහලු පිළිකා කාරක, විවිධ බැර ලෝහ අඩංගු විස වායු වර්ග පරිසරයට නිදහස් වෙනවා. මනුස්ස අපට වතුර ටිකක් බීල හරි නිදහසේ හුස්ම ටිකක් අරගෙන ජීවත් වෙන්න නම්, ගහකොළ සතා සිවුපාවා සහිත මේ පරිසරය විනාස නොවී තියෙන්න ඕන. ලෙඩා මළත් මොකද බඩ සුද්ධ වුනා නම් කියන ක්‍රමයට සෞඛ්‍ය අංශ වැඩ කරන්න හොඳ නෑ. රටක් විදිහට නිශ්චිත පාරිසරික ප්‍රතිපත්තියක් හදා ගන්න රාජ්‍ය පාලක පිරිස් උනන්දු වෙන්න ඕන. හැම තීරණයක්ම ඒ පාරිසරික ප්‍රතිපත්ති රාමුව ඇතුලෙ ඉඳල තමයි ගන්න ඕන.

රටේ ඉන්න මදුරුවො ටික මරල ඉවර කළාම ගැටළුව ඉවරයි කියල සමහරු හිතනවා. නමුත් ඒක කවදාවත් කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. මදුරුව කියන්නෙ අපේ පරිසර පද්ධතියේම කොටසක්. මදුරුවො ටික මරල දැම්මොත්, උංව ආහාරයට අරගෙන ජීවත්වෙන මදුරුවගෙ විලෝපීයන් මිය යනවා. විලෝපීයන් මියගියාම, ඉතිරි වෙලා ඉන්න මදුරුවො එකා දෙන්නා මර්ධනය කර ගන්න බැරි මට්ටමට වැඩි වෙලා තත්ත්වය තවත් දරුනු වෙන්න පුළුවන්. ජෛව විවිධත්වයත් එක්ක මුළු පරිසර පද්ධතියම එකට බැඳිල තියෙන නිසා, එක ජෛව පුරුකක් කැඩුනොත් මානව පැවැත්මටත් විසාල තර්ජනයක් වෙන විදිහෙ විනාසයක් වෙන්න ඉඩ තියෙනවා.

ඉතින් ඒ නිසා, වෛරය ඇසුරු කරගෙන ඌණතා මානසිකත්වයෙන් ඩෙංගු නටන වැඩ පිළිවෙල තාවකාලිකව හරි රටේ වැඩි පිරිසක් නවත්වල දැම්මොත්, ඩෙංගු උණ වසංගතය නම් ලේසියෙන්ම නැති කරන්න පුළුවන්. අපි මෙතනදි තේරුම් ගත යුතු විශේෂම කාරණය තමයි, මේක ඩෙංගු මදුරුවගෙ ප්‍රශ්නයක් නොවන බව. ඩෙංගු මදුරුවො ඉස්සරත් හිටියා. ඩෙංගු මදුරුවා එක්ක වෛර බැඳගෙන, උංව මරන්න ඕන කියන එක ලොකු වරද්දා ගැනීමක්. උගේ සිරුරට ඩෙංගු වෛරසය ඇතුලු වෙන්න අවශ්‍ය පසුතලය සකස් කරල දෙන්නෙ, මිනිස්සු වෛරය ඇසුරු කරමින් සිද්ධ කරන නොමනා ක්‍රියාවන් නිසා බව තේරුම් ගන්න ඕන. මේ නිසා ප්‍රයෝග සම්පත්තිය ප්‍රයෝජනයට අරගෙන මේ

ගැටළුව ධර්මානුකූලව විසඳ ගැනීම තමයි ඵලදායී වෙන්නෙ.

අතීතයේ අපේ රටේ තිබිච්ච ශ්‍රී විභූතිය ගැන උදම් අනමින් කතා කළාට, එදා ඒ ශ්‍රී විභූතිය උදා කර ගත්තෙ කොහොමද කියල විමසා බැලීමක්වත් කරල තියෙනවද කියල සැක සහිතයි. එදා මේ රටේ හිටිය පාලකයන් ධාර්මික වුනා. ඒකෙන් රටවැසියො ධාර්මික වුනා. යහපත් ගුණධර්ම ඇතිව කටයුතු කරන මිනිස්සුන්ට දෙවි දේවතාවො ආශිර්වාද කරනවා, දෙවියන්ගෙ ආශිර්වාදය ලබන මිනිස්සුන්ට ඒ හේතුවෙන් අභිවෘද්ධියක් මිස පිරිහීමක් වෙන්නෙ නෑ කියල ධර්මයේ පෙන්වා තියෙනවා. එහෙම වෙනකොට ස්වභාවික විපත් නැති වෙලා, නිසි කලට වැහි වැහැල, භව බෝග සරුසාර වෙලා, මුළු රටටම ඉහළම සශ්‍රීකත්වයක් ලැබෙනවා. එහෙම වුනා නම් මේ රට නැවත වරක් මුතු ඇටයක් වගේ ලෝකය හමුවේ බබළන්න ගන්නවා.

කරුණාව, මෛත්‍රිය සහ ලද දෙයින් සතුටු වීම වගේ යහපත් ගුණධර්ම සමග යෝග වුනාම ඒක යහපත් ප්‍රයෝගයක් වෙනවා. එතකොට ප්‍රයෝග සම්පත්තියක් වෙලා, ඒකෙන් ගති සම්පත්තිය උදාවෙනවා. ගති සම්පත්තිය තුලින් උපදි සම්පත්තිය උදා වෙලා... මේ ආකාරයට මුළු රටටම යහපතක් වෙන ධර්මානුකූල ක්‍රම රටාවක් තියෙනවා. රටේ පාලක පිරිස් ඇතුලු සමස්ත ජනතාවම ධර්මානුකූලව කටයුතු කිරීමෙන් ඩෙංගු ගැටළුව පමණක් නෙවෙයි, රජයට කොහොමටවත් විසඳගන්න බැරි බව පේන උභතෝකෝටික ගැටළු පවා නිදහසේ විසඳෙන බවට නම් සැකයක් නෑ.

## මදුරුවන් පලවා හැරීමට ධර්මානුකූල ක්‍රම

නිවස සහ ඒ අවට පිරිසිදුව තබාගන්න ගමන් මදුරුවන් පලවා හැරීම සදහා "සබ්බ පාපස්ස අකරණං..." ගාථාව හෝ කඳමෙත් පිරිතේ "අප්පමාණෝ බුද්ධෝ අප්පමාණෝ ධම්මෝ අප්පමාණෝ සංඝෝ, පමාණවන්තානි සිරිංසපානි අහිවිච්ඡිකා සතපදී උණ්ණානාභි සරබූ මූසිකා. කතා මේ රක්ඛා කතා මේ පරිත්තා, පටික්කමන්තු භූතානි, සෝහං නමෝ භගවතෝ නමෝ සත්තන්නං සම්මාසම්බුද්ධානන්ති." කියන ගාථාව හෝ මේ ගාථා 2 ම හෝ 108 වරක් සුවඳ දුම් කුඩු, සාම්බ්‍රානි ආදියට පිරිත් කරල උදේ හවස නිවසට සහ නිවස අවට දුම් ටිකක් දිනපතා අල්ලන්න පුරුදු කරගත්තම මදුරුවන් ඈත්වෙලා යනවා. ඒ අතරම තම තමන් කරන කියන කටයුතු, කරුණා මෛත්‍රී සිතිවිලි සහිතව කරන කොට මේවායේ ප්‍රතිඵල තවත් වැඩි වෙනවා.

මෛත්‍රී කර්මස්ථානයක් වඩන අවස්ථාවක, දෂ්ඨ කර ගන්න බැරිව ඇඟ දිගේ ඇවිද යන මදුරුවන් ඇතැම් විට ඔබ දැකල ඇති. යෝනිසෝ මනසිකාරයෙන් ශ්‍රී සත් ධර්මය ශ්‍රවණය කරන අවස්ථාවකදිත් අප්‍රමාණ මෙත් සිතක් නැගෙන නිසා මේ අත්දැකීම ලබාගන්න පුළුවන්.

**මදුරුතලා හෙවත් තුල්සි කියන ගහ කුඩා කැලිවලට කඩල භාජනයකට දාල නිවසේ කාමරවල තිව්වම මදුරුවො එන ප්‍රමාණය අඩු වෙනවා. දින කීපයක් නැවත නැවත පොඩි කරමින් තියල වේලුනාට පස්සෙ සුවඳ දුම් අල්ලන කොට අඟුරු උඩට දාල ඒවත් දුම් අල්ලන්න ගන්න පුළුවන්.**

**මේ විස්තර කරන්නෙ මදුරුවන් පලවා හරින්න ගැලපෙන වටිනා ඖෂධීය දුම් කුඩක් හදාගන්න විදිහ. මදුරුතලා, සැවැන්දරා, පැඟිරි සහ අඳු කියන ගස් සහමුලින් සම ප්‍රමාණයෙන් අරගෙන වංගෙඩියක දාල කොටල හෝ වෙන යම් ක්‍රමයකට හෝ කුඩු කරල වේළ ගන්නවා. ඒ කුඩු මිශ්‍රණයේ කිලෝ 4 කට පැඟිරි තෙල් සහ කපුරු තෙල් බෝතල් 1/4 බැගින් හොඳින් මිශ්‍ර කර ගෙන, උදේ හවස නිවසට සහ නිවස අවට දුම් ටිකක් අල්ල ගත්තම මදුරුවන් පලා යනවා.**

මේ කාලෙ වැඩි දෙනෙක් මදුරුවන් පලවා හරින්න මදුරු දඟර භාවිතා කරනවා. ඒකෙන් තාවකාලික සහනයක් ලැබෙනවා තමයි. නමුත් මෙතනදි පෙන්වා දෙන්න ඕන තවත් කාරණයක් තියෙනවා. මදුරු දඟරවල දුමෙන් මදුරුවන්ට ලොකු පීඩාවක් ගෙන දෙනවා. මදුරුවා කියන්නෙ කවද හරි දවසක මනුස්සයෙක් වෙලා ඉන්නකොට කරපු පාප සංඛාරවල විපාක විඳින ජාතියේ අත්බවක් ලබපු සතෙක්. ඒ නිසා ඌට ඒ වගේ පීඩා උරුමයි. උන්ගෙ විපාකයට ගැලපෙන පරිසරයක් අපි හදන කොට ඒ වගේ විපාක විඳින්න හේතු තියෙන කෝටි ප්‍රකෝටි සංඛ්‍යාත මදුරුවන් අතරින්, අපිත් එක්ක අතීත ගනුදෙනු තියෙන දහස් ගණන් මදුරුවො එතනට ඇදිල එනවා. දෂ්ඨ කරන කරන මදුරුවන්ව මරන්න ගියාම වෙන්නෙත්, අපෙන් මැරුම් කන්න හේතු තියෙන මදුරුවන් මේ විදිහට තව තවත් ඇදිල එන එක.

අනික් අතට අපි මදුරුවො මැරුව කියල උන්ගෙ මදුරු බවට අදාළ කර්ම ශක්තිය ගෙවෙනකල් උන්ව මදුරු භවෙන් චුත කරන්න කාටවත් බෑ. ඩෙංගු මදුරුවෙක් මැරුවත්, උගේ මරණයත් එක්ක නැවතත් ඩෙංගු මදුරු ගන්ධබ්බයෙක් වෙලා නැවත නැවතත් ඩෙංගු මදුරුවෙක් විදිහටම ඉපදෙන එක තමයි බොහෝ කොටම සිද්ධ වෙන්නෙ.

## හෙළ බෙහෙත් හැදුන හැටි

සිත මුල් කරගෙන අපි සිද්ධ කරන විවිධ සංඛාරවලට අනුව ක්‍රියාත්මක වන පටිච්ච සමුප්පාද චක්‍ර අවසානයේ විශ්වයට මුදා හැරෙන සුද්ධාෂ්ඨක තුලින් ලෝකයේ විවිධ ද්‍රව්‍ය වස්තු නිර්මාණය වෙනවා. මූලද්‍රව්‍ය 108 ක් බිහි වෙලා තියෙන්නෙත් අපේ සිතේ හටගන්නා වූ තණ්හා ප්‍රභේද 108 ට අනුරූපව. තවත් විදිහකට කියනව නම්, අග්ගඤ්ඤ සූත්‍රය අනුව ලෝකෝත්පත්ති සමයෙදි බ්‍රහ්ම කල්පික ආදී මනුස්සයින් ලෞකික වූ අලෝභ, අද්වේශ, අමෝහ ගුණයන්ගෙන් පූර්ණ වෙලා හිටියා. පසුව ක්‍රමයෙන් ගුණ හීන වීමත් සමග අපෙන් ඈත් වෙන ගුණය විශ්වයට එකතු වෙලා විවිධ ඔසු වර්ග ඇතුළු ද්‍රව්‍ය වස්තු නිර්මාණය වෙන්න පටන් ගත්තා.

තව මදි කියන ඌණතාවය හටගත්තම, මට මේ ඇති කියල, ලද දෙයින් සතුටු වීමේ ගුණය මනුස්සයා තුලින් ගිලිහිලා විශ්වයට විහිදිලා ගිහින් උණ ශාකය බිහි වුනා. **ඌණතාවය හේතුවෙන් ශරීරයේ හටගන්නා උණ රෝගය හොඳ වෙන්න ඕන කරන ඖෂධ ශක්තිය මේ උණ ශාකයේ ගැබ්වෙලා තියෙන බව,** ද්‍රව්‍ය පදාර්ථ ඥානය තියෙන උතුමන්ට වැටහෙනවා. අරළු, බුළු, නෙල්ලි.. ආදී හැම බෙහෙතක්ම හැදිල තියෙන්නෙත් මේ ආකාරයට අපි ළඟ තිබුන යහපත් ගුණ ධර්ම දුරස් වෙලා විහිදුන ශක්තියෙන්. අපිට රෝගාබාධ වැළඳෙන්න හේතුව අපි ළඟ තිබුන ගුණ ධර්ම අපෙන් ගිලිහී යාම. එහෙම ගිලිහුණ ගුණයෙන් බිහි වෙච්ච ගස් වැල්... ආදී දේවල්වල තමයි හෙළ බෙහෙත් තියෙන්නෙ. මේ

විදිහට අපි ළග තිබුන යහපත් ගුණ ගිලිහීමෙන් හැදුන ලෙඩේට, අදාළ ගුණයෙන් බිහි වෙච්ච ගස් වැල් ආදී ද්‍රව්‍යවලින් හදාගන්න බෙහෙත් දුන්නම ඒක ප්‍රත්‍යවෙලා ලෙඩේ හොඳ වෙනවා.

මේ ක්‍රමයට තමයි රාවණා රජ පරපුර දක්වා දිවෙන ප්‍රෞඪ ඉතිහාසයක් තියෙන අපේ පාරම්පරික හෙළ වෙදකම බිහිවෙලා තිබුනෙ. හෙළ වෙදකම හෙවත් දේශීය වෛද්‍ය විද්‍යාවේ ප්‍රතිකාර සඳහා යොදා ගන්නෙ අවට තියෙන ස්වභාවික දේවල් නිසා විදේශ රටවලට මුදල් ගලා යාමක් සිද්ධ වෙන්නෙත් නෑ. මොළය ආශ්‍රිත බැරෑරුම් සැත්කම් පවා සාර්ථකව සිද්ධ කරන මට්ටමට පෙර දවසේ අපේ හෙළ වෙදකම දියුණු වෙලා තිබුණා. ඒ වගේ ශ්‍රේෂ්ඨ වූ අපේ හෙළ වෙදකම යටකරගෙන තමයි අද දවසේ බටහිරින් ආපු වෛද්‍ය විද්‍යාවත්, ඉන්දියාවෙන් ආපු ආයුර්වේද වෛද්‍ය විද්‍යාවත් ශ්‍රී ලාංකීය වෛද්‍ය ක්ෂේත්‍රයේ රජ කිරුළ සහ යුව රජ කිරුළ දරාගෙන ඉන්නෙ. මේ වෛද්‍ය අංශවලින් ප්‍රතිකාර කිරීම සඳහා ජාතික ධනය විදෙස් රටවලට ඇදී යන නිසා රටක් වශයෙන් ගත්තම ඒක ලොකු අවාසියක්.

## ඩෙංගු රෝගයට හෙළ වෙදකමෙන් ප්‍රතිකාරයක්

මේ දිනවල තදින්ම පැතිරිලා තියෙන ඩෙංගු රෝගයට නොවරදින ප්‍රත්‍යක්ෂ හෙළ බෙහෙතක් අපි කවුරුත් දන්නා උණ ගහෙන් ඉතාම පහසුවෙන් හදාගන්න පුළුවන්. මේ බෙහෙතට ගන්නෙ කහ උණ සහ කොළ උණ (නිල් උණ) කියන වර්ග දෙකේ ළපටි ගොබවල බොඩයේ ඉස්ම විතරයි. සාමාන්‍ය ඩෙංගු රෝගයට කහ උණ තමයි යොදා ගන්නෙ. දරුණු මට්ටමේ ඩෙංගු අවස්ථාවට කොළ සහ කහ යන වර්ග දෙකේම යුෂ මිශ්‍ර කරල දෙන්න ඕන. වෙන කිසිම බෙහෙතක් මේකට මිශ්‍ර කරන්නෙ නෑ. ඕනෑම කෙනෙකුට පහසුවෙන් හදා ගන්න පුළුවන්. ගහකින් කුරුම්බ ගෙඩියක් කඩාගෙන බොනව වගේ 100% ක්ම ස්වභාවිකයි. කිසිම අතුරු ආබාධයක් නෑ. වෛරසයක් නිසා වැළඳෙන සරම්ප රෝගය සඳහාත් උණ ශාකයේ කොළ භාවිතා කරන බව කොංගෝ රාජ්‍යයෙන් වාර්තා වෙනවා. මේ උණ බොඩ කියන්නෙ චීන ජාතිකයින්ගෙ ප්‍රියතම ආහාරයක්. ඒ නිසා මේක වසක් විසක් නෙවෙයි. අත්හදා බලන්න ඕන කියල හිතන කෙනෙකුට වුනත් කරල බලන්න පුළුවන්. බටහිර හෝ වෙනත් ඕනෑම වෛද්‍ය ප්‍රතිකාරයක් කරගෙන යන ගමන් වුනත් මේ බෙහෙත පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි, **මේ බෙහෙත ගර්භණී මව්වරුන්ට ලබා නොදිය යුතු බව විශේෂයෙන් මතක් කරන්න ඕන.**

## උණ ගොබ බෙහෙත හදා ගන්න හැටි










අඩි 2 - 5 ත් අතර උස ප්‍රමාණයේ උණ ගොබයක් අරගෙන කෙසෙල් කඳක් පතුරු ගලවනව වගේ පතුරු ගලව ගන්න ඕන. මතුපිට තියෙන බූව ඇගේ ගෑවීමෙන් කසන්න පුළුවන් නිසා ඒ ගැනත් සැළකිලිමත් වෙන එක හොඳයි. මෙහෙම පතුරු ගලවගෙන ගියාම ගොබය මැද උඩ කෙලවරේ හමුවන අඟල් 6 ක් පමණ දිග කෙසෙල් මුහයක හැඩය ඇති, සුදු පාටින් යුක්ත, අතින් කඩන්න පුළුවන් තරමෙ මොළොක් බොඩ කොටස වෙන් කරගන්න ඕන. ඊළඟට මේ බොඩය කුඩා කෑලිවලට කපල වංගෙඩියක දාල කොටා ගන්න ඕන. එහෙම නැත්නම් මිශ්‍රණ යන්ත්‍රයකින් පොඩි කරගන්නත් පුළුවන්. ඊළඟට පිරිසිදු රෙදි කඩක දාල මිරිකල හෝ වෙන ආකාරයකට හෝ වතුර දාන්නෙ නැතිව ඒකෙ ඉස්ම ටික භාජනයකට වෙන්කර ගන්න ඕන. දැන් බෙහෙත හදල ඉවරයි. කාමර උෂ්ණත්වය යටතේ මේ බෙහෙත දින දෙක හමාරක්, තුනක් පමණ තියා ගන්න පුළුවන්. ශීතකරණයක නම් මාසයක් විතර තියා ගන්න පුළුවන්.

## මාත්‍රාව

මෙහෙම හදාගත්ත බෙහෙත වැඩිහිටියෙක් සඳහා වරකට මේස හැඳි 2 ක්, ලොකු ළමයෙකුට මේස හැඳි 1 ක්, කුඩා ළමයෙකුට වරකට තේ හැඳි 1 ක් වශයෙන් දිනකට 3 වරක්, ඒ කියන්නෙ උදේ 6, දවල් 2, රාත්‍රී 10 වගේ පැය 8 කට වරක් වේල් 5 ක් දෙන්න ඕන. වේල් 5 කට වඩා දෙන්න සුදුසු නෑ.

මුළු ප්‍රතිකාරයටම ගතවෙන්නෙ දින එක හමාරයි. වෙනත් කිසිම ප්‍රතිකාරයක් නැතිව, ඩෙංගු ඇතුලු සියලුම උණ රෝග මේ උණ ගොබ යුෂ බෙහෙතෙන් සම්පූර්ණයෙන්ම සුව කරගන්න පුළුවන්. මේ බෙහෙත තරමක් තිත්ත ගතියකින් යුක්ත නිසා කුඩා ළමයින්ට දෙන කොට දුඹුරු සීනි හෝ තල් සූකිරි වගේ දෙයක් සමග දෙන්න පුළුවන්. වේල් දෙකක් බොන කොටම ඇගේ අමාරුකම් අඩුවෙලා ප්‍රාණවත් ගතියක් ඇවිත් රෝගියාටම වැටහෙනවා ලෙඩේ හොඳ පැත්තට හැරෙනව කියල. වේල් 5 ම දීල ඉවර වුන ගමන්ම පට්ටිකා වැඩි වෙන බව නොපෙන්වන අවස්ථාත් තියෙනවා. එහෙම වුනත් රෝගියාගේ ලෙඩ පෙනුම සම්පූර්ණයෙන් පහ වෙලා ගිහින් සුව අතට හැරිල කියල, රෝගියා දිහා පිටින් බලන කෙනෙකුටත් පැහැදිලිවම පේනවා. ඒ කොහොම වුනත්, **අනික් හැම බෙහෙතක්ම වගේ මේ බෙහෙතත් ගුණ දෙන්නෙ තම තමන්ගෙ කර්ම ශක්තියට යටත්ව බව විශේෂයෙන් සඳහන් කරන්න ඕන.**

## අමතර පෝෂණයට

ශරීරය ගොඩක් දුර්වල රෝගියෙකුට නම් මේ බෙහෙතෙන් පස්සෙ පෝෂණ බෙහෙතකුත් දෙන්න වෙනවා. විශේෂයෙන් ළමා වයසේ අයට මේ තත්වය බලපාන්න පුළුවන්. හෙළ වෙදකමේ දැක්වෙන පෝෂණ බෙහෙත් පළපුරුදු වෛද්‍යවරයෙකුට හැර අනික් අයට හදා ගන්න අපහසු නිසා ඒවා හදා ගන්න විදිහ මේ ලිපියේ සඳහන් කරන්නෙ නෑ. මොණරකුඩුම්බිය ගහ සහමුලින්ම අරගෙන කැඳ හදල දුන්නම රුධිරයේ හිමොග්ලොබින් වර්ධනය වෙලා ලේ ධාතුව පෝෂණය වෙනවා. මැල්ලුමක් විදිහට වගේම සළාදයක් විදිහට දෙන්නත් පුළුවන්. ගිරාපළාත් හොඳයි. මොණරකුඩුම්බිය විශේෂයෙන් ශරීරයේ ඇතිවෙන දැවිලි ගති ආදියත් සමනය කරනවා. බලු නකුට, බළල් නකුට, රිලා නැටි... ආදී නම්වලින් හඳුන්වන ගහේ කොළ, දළු, මල්, දඬු... ආදී හැම කොටසම අරගෙන කැඳ හදල දුන්නම පට්ටිකා ආදී කොටස්වල යම් අඩුපාඩු තියෙනව නම් යථා තත්ත්වයට පත්වෙනවා. කැරෑකොකු හෙවත් බරු කොකු ව්‍යංජනයක් විදිහට හදල දෙන එකත් මේකටම හොඳයි. පහසු ආකාරයකට මුරුංගා කොළ සකස් කරගෙන ආහාරයට ගැනීමත් හොඳයි. ඊට අමතරව හීන් බෝවිටියා කොළ කැඳ හදල දුන්නම ඩෙංගු රෝගය නිසා අක්මාව, ඇලදිව ආශ්‍රිතව ඇතිවන සංකූලතා පාලනය වෙනවා. පත්පාඩගම් සහ විශ්ණුක්‍රාන්ති සම ප්‍රමාණයෙන් අරගෙන තම්බල වතුර දීමෙනුත් රුධිර පට්ටිකා වර්ධනය වෙන බව ආයුර්වේද වෛද්‍ය විද්‍යාවේ සඳහන් වෙනවා.

## බෙහෙත වැඩි කාලයක් තබා ගැනීමට

උණ බොඩ යුෂ (කහ සහ කොළ දෙකම මිශ්‍ර) අඩු කෝප්ප 1 කට : තල් සුකිරි ග්‍රෑම් 100 ක් කියන අනුපාතයට මිශ්‍ර කරල දර ලිපේ, මැටි වළඳක, පැණි පදමට, මඳ ගින්දරේ උෂ්ණත්වය පාලනය කරල උණු කර ගත්තම පැණියක් විදිහට ශීතකරණයක නොතබා සෑහෙන කාලයක් තියාගන්න පුළුවන්. නැත්නම් හකුරු පදමට උණු කර ගෙන කැට හෝ කුඩු ආකාරයට පාවිච්චි කරන්න ගන්නත් පුළුවන්. ඖෂධ නිෂ්පාදනය ගැන පළපුරුද්ද සහ අවබෝධය තියෙන අය විතරක් මේ කල් තබා ගන්න පැණිය හදන එක තමයි වැඩිය හොඳ.

කල් තබාගන්න පුළුවන් නියම විදිහට සකස් කළ මේ උණ පැණිය වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සහ අනුරාධපුර විලච්චිය පාරේ බාලදක්ෂ මාවතේ පිහිටි අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුනේ ඉරිදා දිනවල පැවැත්වෙන වෛද්‍ය සායනයෙන් ලබා ගන්න පුළුවන්.

මේ උණ පැණිය වැඩිහිටියෙකුට නම් තේ හැඳි 1 ක්, ළමා වයසේ අයකුට නම් තේ හැඳි බාගයක් වශයෙන් දිනකට 3 වරක් (පැය 8 කට වරක්) වේල් 5 ක් දෙන්න ඕන. මෙහෙම පැණියක් විදිහට හැදුවම ඖෂධ ශක්තියේ වෙනසක් නොවුනට ක්ෂණික ක්‍රියාකාරී ගතිය තරමක් අඩු නිසා, රෝගියා ඉන්නෙ ඉතාමත් දරුණු අවස්ථාවක නම්, උණබොඩ යුෂ කෙලින්ම හදල දෙන එක තමයි වඩාම හොඳ.

## ඕනෑම උණකට

ඩෙංගු සඳහා අලුතෙන් හොයා ගත්ත කියන බොහෝ කෘතිම බෙහෙත් වර්ග දෙන්න පුළුවන් වෙන්නෙ, හරියටම ඩෙංගු රෝගයමයි කියල තහවුරු වුනොත් විතරයි. නැත්නම් ඒවා වකුගඩුවලට හානිකර වෙන්න පුළුවන්. ඒත් මේ උණබොඩ බෙහෙත ඩෙංගුවලට විතරක් නෙවෙයි, ඕනම උණ රෝගයකට දෙන්න පුළුවන් නිසා ඒ වගේ ගැටළුවක් මතු වෙන්නෙ නෑ.

ඩෙංගු විතරක් නෙවෙයි, ඕනම දරුණු වෛරස් උණකට වගේම සාමාන්‍ය වෛරස් උණටත්, සාමාන්‍ය මැලේරියාවටත් මේ උණ බොඩ බෙහෙත මේ විදිහටම දෙන්න පුළුවන්. සාමාන්‍ය උණට නම් වේල් දෙකක් බොන්න දුන්නම ඇඟේ අමාරුකම් නැතිවෙලා ලෙඩේ සම්පූර්ණයෙන්ම හොඳ වෙනවා. ඒකට කහ උණ ශාකය විතරක් ගත්තත් ඇති. නමුත් නිව්මෝනියාව, මොලේ මැලේරියාව, ජැපනීස් එන්සෙප්ලයිටීස් වගේ දරුණු උණ රෝග සඳහා කහ සහ කොළ උණ වර්ග දෙකම මිශ්‍ර කරල ගන්න ඕන. මේ ආකාරයට පැය 8 කට සැරයක් වේල් 5 ක් ගත්තම මේ වගේ ඕනම දරුණු උණක් කිසිම කරදරයක් නැතිව සුව කර ගන්න පුළුවන්.

## පින්දීම

මේ වගේ වටිනා බෙහෙත් වර්ග සකස් කරන, හෙළ වෙදකමේ පැවැත්මට අමිල සේවයක් ඉටු කරන සත්පුරිසයින් ඇතුළු මේ ලිපිය සකස් කිරීමට සහය වූ හැම දෙනාටම බොහොම පිං.

## බෙහෙත පෙන්වා දුන් උත්තමයාණෝ

සෑහෙන කාලයක් තිස්සේ යටපත් වෙලා තිබ්බ්ච අපේ හෙළ වෙදකම සතු ඉහත සඳහන් උණබොඩ බෙහෙත ඇතුලු වටිනා බෙහෙත් වර්ග රාශියක්ම නැවත මතුකරල දුන්නෙ අපේ පිනට පහළ වෙච්ච මහා සංඝ පීතෘවරයන් වහන්සේ නමක් විසින්. නිවන් මග වඩාගෙන යන අයට බාධක වශයෙන් එන ලෙඩ දුක් කරදර සමනය කර ගන්න තමයි උන්වහන්සේ ඒ බෙහෙත් වර්ග ලෝකයාට හෙළි කළේ. අති විශේෂ උත්තමයෙකුට පමණක් දුර්ලභව ලැබෙන සතර පොත්ගුල් දොර විවර වීමේ භාග්‍යයත් උන්වහන්සේට ගිහිව සිටියදීම ලැබිල තිබුණා. ද්‍රව්‍ය පදාර්ථ ඥානයත්, ඖෂධ ඥානයත්, සිවුපිළිසිඹියා ඥානත් සමග වැඩ සිටි උන්වහන්සේ තමයි පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මාහිමිපාණන් වහන්සේ.

හෙළ වෙදකම සතු වටිනා බෙහෙත් වර්ග වගේම, සංසාර රෝගය නසල උතුම් නිවන් සාක්ෂාත් කර ගැනීමට හේතු වන්නා වූ වටිනා දහම් ඖෂධත් උන්වහන්සේ විසින් ලෝකයාට හෙළිදරව් කළා. උන් වහන්සේ මෙතෙක් කලක් ඉතිහාස පොත්වලට පමණක් සීමා වෙලා තිබුන මග ඵල නිවන් යථාර්ථයක් බවට පත්කරමින් ආර්ය කළණ වැටට දහස් ගණන් සත්පුරුෂයන් එක් කරන්න පුරෝගාමී වුනා. සංසාර රෝගයට දහම් ඖෂධ බෙදූ උන්වහන්සේ, තත් වූ පරිදිම ලෝකය කැමැති සේ නැති බව මොනවට පසක් කරමින් මේ කය අතහැරල සසර ගමනින් සමුගත්තා.

අභයරතනාලංකාර මාහිමිපාණන් වහන්සේ විසින් නැවත මතුකර දුන් උණ බොඩ යුෂ බෙහෙත ඇතුළු යටපත් වෙලා තිබ්බ්ච හෙළ වෙදකම සතු වටිනා බෙහෙත් වර්ග තුලින් කායික රෝග පීඩා සමනය කරගෙන, කලක් යටපත් වෙලා තිබිල උන්වහන්සේ විසින් නැවත මතුකර පෙන්වා දුන් භව රෝගය නැසීමට අත්‍යවශ්‍ය වටිනා දහම් ඔසුත් ලබා ගෙන, මේ අසාර ලෝකය අත්හැරී මිදීමෙන් ලබන වීතරාගී, වීතදෝසී, වීතමෝහී උතුම් නිවන් සාක්ෂාත් කර ගැනීමට හැම දෙනාම හේතු වාසනා පහළ කර ගනිත්වා !

සටහන
**යසස් දර්ශණප්‍රිය**
**අළුත්ගම**
**071-4282675**

# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී දහම් මග අනුගමනය කරන පින්වතුන් කෙරෙහි ගිලානප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සලකා බෙහෙත් සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මේ විදිහට සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න.








### 1. ශරීරය ඇතුලේ පවතින තුන් දොසින් හට ගත් ගෙඩි, කටු පිළිකා, සෙම පිළිකා... ආදී රෝග සඳහා

එඬරු ඇට මද පත 1 යි, කැලෑ ඉඳිබොඩ ඉස්ම පත 1 යි, නා ඇට මද පත 1 යි, තැඹිලි පොල් ගෙඩියක පහටිය පළුවේ පොල්වලින් පත 1 යි, කොණ්ඩ කඩල ග්‍රෑම් 200 ක් වතුර පත 4 කින් තම්බා ගත් වතුර පත 1 යි, කෝමාරිකා පිති ඉස්ම පත 1/2 යි, රත් හඳුන් කුඩු පත 1/4 යි, අළු කෙසෙල් මුහයක ළපටි මල් කැබලි පත 1 යි, සමන් පිච්ච මල් පොහොට්ටු පත 1 යි, කොරසවැල් වතුර පත 4 යි, කැබලි කරගත් හීන් උඳුපියලිය පත 1 යි, වරකා ගහේ පොතු කැබලි පත 1 යි, ළපටි පොළොස් ගෙඩියක පහටිය පළුවේ කැබලි පත 1 යි, අමු නෙල්ලි ඉස්ම පත 2 යි, කළු උක් පුරුක් කොණ්ඩ (කඳේ හට ගන්නා ගැට සහිත මොටෙයියන්) සහ උක්ගහේ පිට පොතු කැබලි පත 1 යි, කටු අනෝදා කොළ කැබලි පත 2 යි, ගැටපිච්ච මල් පොහොට්ටු පත 3/4 යි, බැලතණ මුල් සමග කැබලි කර කැබලි පත 3/4 යි, දෙහි පොතු පත 3/4 යි, වියළි මිදි මුල් පත 1/2 යි (අමු මිදි මුල් නම් පත 1 යි), හීන් නිදිකුම්බා කැබලි පත 1 යි.

මේ සියල්ලම හොඳට කොටාගෙන ඉහත සඳහන් කළ කොරසවැල් දියරින් මිරික ගන්න. ඒ දියරයට තල තෙල් පත 4 යි, එළඟි තෙල් පත 1 යි, මී තෙල් පත 1/2 යි, පොල් තෙල් පත 4 යි දමා මඳ ගින්නේ සමපාකයට හිඳ ගන්න. හිඳීගෙන එනකොට තෙල් මණ්ඩි කරවෙන්න හෙමින් බස්සවල කළුදුරු කුඩු පත 1/4 යි, සූදුරු කුඩු පත 1/4 යි, නාමල් රේණු පත 1/2 යි, මී හරක් අං කුඩු පත 1/8 යි කියන මේ ඖෂධ කුඩු කරල තෙල පදම් වෙනකොට දමන්න. සමපාකයට සුවඳ වහනය වෙනකොට තෙල භාජනයකට බාගන්න. (මී හරක් අං සාමාන්‍යයෙන් ගමේ ගොඩේ ගෙවල්වලින් හොයා ගන්න පුළුවන්. ඉස්සර කුඹුරු සී සාන්න ගත්තෙත් මී හරක් අං.)

මේ තෙල මගින් ශරීරය ඇතුලේ පවතින තුන් දොසින් හට ගත් ගෙඩි, කටු පිළිකා, සෙම පිළිකා, බඩවැල්වල අජීර්ණ වෙච්ච සෙම ක්‍රමයෙන් දිය කර සමනය කරනවා. තුන් මාසයක් දිනපතා හවසට ගෑමෙන් අස්ථි ඇතුලට කා වැදුනු තුන් දොසින් හට ගත් විස සුව වෙනවා. පාදවල අමාරුකම් සහ අර්ශස් ගෙඩි වගේ රෝග තත්ත්වයන් තියෙන අයට පෙකණියෙන් අඟලක් පහළින් පටන් ඉඟ වටා දෙපා ආදියෙහි දිනපතා සවස හෝ රාත්‍රියට ගල්වමින් හොඳින් අතුල්ලන්න. මස් පිඬු යට පටන් එන ගෙඩිවලට බුලත් කොළයක් මත තෙල් පුළුන් තියල රාත්‍රියට බඳින්න.

### 2. ඉහත තෙල් ගෑමෙන් පසුව තුන් දොස් සමනයට කසායක්

බිම් පොල් ගස්, හීන් උඳුපියලිය, බේත් එඬරු මුල්, බැබිල මුල්, කළු උක් පුරුක්, සැවැන්දරා, සහිඳ ලුණු, තිප්පිලි, ලිපේ අළු, සුදු ළූණු, බෙලි මුල්, කරපිංච නැටි කියන මේවා කලඳ බැගින් අරගෙන පත අට එකට හිඳගෙන පෙරල උදේ හවස අනුපානයට සීනි මී පැණි දමා බොන්න. (හැලි 7 සිට 14 දක්වා) ඒ කියන්නෙ, මේ බේත ප්‍රත්‍ය වෙන්න නම් සීනි සහ මී පැණි දෙකම දාන්න ඕන.

### 3. නාසයේ මස් දළු සඳහා

වියළි කුඩු මිරිස් මුල් (වෙනම ගස් වර්ගයක්) සහ තිප්පිලි කියන අමු ද්‍රව්‍ය දෙක සමව අරගෙන හොඳට කුඩු කරල පෙනේරයකින් හලාගෙන ටික ටික නාසයට උරන්න.

### 4. මස් දළු දියවීම සඳහා තෙලක්

කහ පාට උණබොඩ ඉස්ම බෝතල් 1/2 යි (උණ

ගහේ ළපටි මොටෙයියා පොතු ඉවත් කර බොඩය මිරිකා ගත් ඉස්ම), හාතවාරිය කොළ ග්‍රෑම් 250 ක් කොටා ගත් ඉස්ම සමග තල තෙල් බෝතල් 1 ක් දමා සමපාකයට හිඳගන්න. හිඳෙනකොට පෙරුංකායම් කලං 2 යි, කළුදුරු කලං 1 යි, රත් හඳුන් කුඩු කලං 1 යි, තිප්පිලි කුඩු කලං 1 යි දමන්න. මේ විදිහට හදාගත් තෙල දිනපතා උදේ හිසට දමන්න.

### 5. සෙම නිසා එන ඉදිමුම් සඳහා

හරං කහ, අමු ඉඟුරු, පෙරුංකායම් කියන මේවා සමව අරගෙන අඹරගෙන ඒ බරට සමාන බරක් දෙහි ඇඹුල් දමා ලිපේ තියල කකාරවල ගුලි කර ගන්න පුළුවන් පදමෙදි බාගන්න. නිවුනට පසු මී පැණියෙන් අනාගෙන තිබ්බටු පළ තරමට ගුලි කරගෙන වේළගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර 1 බැගින් අරගෙන උණු වතුර ටිකක් බොන්න.

### 6. පෙණහැල්ලේ සෙමට

බට මුල්, මදටිය ගහේ පස් පංගුව (කොළ සහ මුල් නැත්නම් ළපටි කරල් ගන්න), හීන් උඳුපියලිය, පත්පාඩගම්, වෙනිවැල්ගැට, කොත්තමල්ලි, කොස් දළු කියන මේ අමුද්‍රව්‍යවලින් මදටිය පස් පංගුව කලං 1 බැගින් (කලං 5 ක්), අනෙක්වා කලං 3 බැගින් අරගෙන පත 24 පත 3 ට හිඳගන්න. ඉන්පසු අරළු කලං 12 ක් අරගෙන පත අට එකට හිඳගන්න. ඒ විදිහට හිඳගත් ද්‍රාවණවලට පොල් පැණි බෝතල් 1/2 ක් මිශ්‍ර කරල කනක්කයක දමා දින 45 ක් වහල තියල තුන් වතාවක් පත් කඩකින් පෙරා ගන්න. උදේට සහ රාත්‍රියට කෑමට පෙර මේස හැඳි 1 බැගින් බෝතල් 3/4 ක් දෙන්න. ඒ කාල සීමාවේ නෑමෙන් වළකින්න.

### 7. පළුදු වූ දත් කැබලි ඉවත් කිරීම සඳහා

රත් හඳුන් කුඩු සහ අමු කහ එළඟි තෙලින් අඹරල පොට්ටනියක් බැඳගෙන පළුදු වෙච්ච දත් කැබැල්ලට තියල යමතමින් හපමින් විනාඩි 45 ක් සිටිය යුතුයි. ඒ විදිහට උදේ හවස දින 3 ක් කළාම පළුදු වෙච්ච දත් කැබැල්ල ගැලවිලා යනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

# සැඟවුණු බොදු මග යළි විවර කරමින්

## විශ්වය සිසාරා විසුරුවා හැරෙන පෙර නොඇසූ දම් හඬ ශ්‍රී ලංකාද්වීපයේ සුසර වන වගයි.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 71 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ යසස් දර්ශණප්‍රිය මහතා - අළුත්ගම ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමිය ලියනගේ පුතා, ලිතුලි ලියනගේ දුව, තිසරි ලියනගේ දුව - මහර - රු. 50,000/- ■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා, තත්‍යානා යුරේවිනා මහත්මිය, පතිරගේ ආන්‍යා පෙරේරා සහ පතිරගේ පොලීනා පෙරේරා යන දියණියන් - නැදිමාල - රු. 25,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 10,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 6,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ පුබුදු නිහාල් ජයසිංහ මහතා, ජනනි දිසානායක මහත්මිය, සේනිය ජයසිංහ පුතා, පවනි රවීන්දි ජයසිංහ දුව - වෙලගෙදර - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ කිංග්ස්ලි අබේවික්‍රම මහතා - තිඹිරිගස්යාය - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ තිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ ඊ. ඒ. එරන්දතී සඳසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ නීල් ගුණතිලක මහතා - සුදසුන ස්ටුඩියෝ, නිකවැරටිය - රු. 2,480/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ කේ. ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු. 2,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 2,000/- ■ මනෝජ් ජයසූරිය මහතා - මාලඹේ - රු. 1,855/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,680/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ කේ. එම්. කේ. ඩග්ලස් පෙරේරා මහතා සහ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් මහතා - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 1,500/- ■ සමීර සුමිත් මහතා සහ දිලීනා සඳරුවනි මෙනවිය - කඹුරුපිටිය - රු. 1,500/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 1,200/- ■ විජේසූරිය මහතා සහ ඩිලානි මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,200/- ■ පූජ්‍ය වලපනේ සාසනරතන හිමි - රු. 1,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ කේ. මාටින් අප්පු සීයා ඇතුළු මියගිය ඥාතීන්ට පිං පිණිස තුෂාරා අමරතුංග මහත්මිය - හෝමාගම - රු. 1,000/- ■ රජිතා ජයවර්ධන මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ සෝමලතා ජයසිංහ මහත්මිය - රණාල - රු. 1,000/- ■ සුනිමල් කුමාරතුංග මහතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ එම්. කේ. ඥානවතී මහත්මිය - කොට්ටාව - රු. 1,000/- ■ දූෂාන් සන්දීප පුතා - පෝරුවදණ්ඩ - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ සෝමා කස්තුරිආරච්චි මහත්මිය - අල්ගම - රු. 1,000/- ■ කැතරින් ද සිල්වා මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ එන්. එස්. කළුබෝවිල මහතා - මාලබේ - රු. 1,000/- ■ විමල් ගුණතිලක මහතා - පිටිපන - රු. 1,000/- ■ කරුණා දඩිගම මහත්මිය - කෑගල්ල - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුණිකා ප්‍රේමතිලක දුව - රදාවාන - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - ගැටහැත්ත - රු. 1,000/- ■ බී. එම්. සමරසේන මහත්මිය - හාල්දඬුවන - රු. 1,000/- ■ කේ. සමන්ති අමරසිංහ මහත්මිය - රණාල - රු. 1,000/-

■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය - වේවැල්දෙණිය, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, උදිත ලියනගේ මහතා - මාලබේ, මෙවන්කා සුජීවනී මෙනවිය - මීගොඩ, ගාමිණී සිරිමාන්න මහතා ඇතුළු පවුලේ සැම - රදාවාන, එල්. ඒ. රංජිත් මහතා - ඉහලතල්දූව, දස්මික ප්‍රසංග මහතා - පල්කුඹුර - එකතුව - රු. 5,450/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 275,365/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 367,000/- ■ අනෙකුත් වියදම් - 63,660/- ■ සම්පූර්ණ වියදම - රු. 430,660 ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු 28.71/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්.

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676 (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071-2404242, 072-2404242 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071826 1500 / 0662245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මූණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 20 57 572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (25) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (26) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (27) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (28) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (29) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 0712136329 (30) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 0755863883, 0552250051 (31) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (32) සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (33) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 0714569500 / 0353222220 (34) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 0757246797 (35) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 - 77 22 531 (36) ශෛල පබ්බතාරාමය, ගිජිදාගම, පොල්ගහවෙල 071 - 212 5880 (37) සිරිමල් වේරගම මහතා, අංක 44, යොවුන්ගම, මීගොඩ. 072 - 572 88 29 (38) චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 - 7258851 (39) සමනල පොත්හළ - නෙළුව - 071 2837757

**තැපැලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# මැරෙන බව  සිහි කරමු...

උපතද සමගමයි මරණය ගෙනාවේ
හැම සඳ එබව සිහි කළ යුතු මනාවේ
පිනමද සත ඇලෙති කම් සුව ඉනාවේ
මරුවද එවිට තුටු පහටුව සිනාවේ

දිය රත් වෙන තුරා කකුළුව දිය කෙළියේ
අය එය නොදත් සදහට ලෝ දිය සැළියේ
බිය සැක නොමැති කල හදවත ගඳ කිළියේ
හය හතරක් නොදැන දැවටෙති භව සුළියේ

අනිස දුක අනත තිලකුණු මෙනෙහි කොට
මනස එකඟ කර බුදු මග දකින විට
විගස කෙළෙස් බිඳ දැහැනෙහි සුවය පිට
පවස දුක නිවෙයි නිවනිනි පරම සෙට

නොමැරෙන බවකි සමහර අය තුල ඇත්තේ
නොහඳුන වගයි දිවියෙහි හැඩ රුව තත්තේ
බුදු බණ බුදු ගුණයි සිහියට ගත යුත්තේ
ඒනයින අරිය සඟ මරණය ජය ගත්තේ

දේසකයො සිටින මුත් හදවත පටු වේ
දාසයෙකු විලස තණ්හාවෙහි කොටු වේ
දෝස සිතිනි පර හට වින කර තුටු වේ
රෝස මල සුවඳ මුත් නටුවෙහි කටු වේ

මැරෙන බව සිතමු කවදද නැහැ දන්නේ
අමන වැඩ කුමට දුගතිය හිමි වන්නේ
සරණ එකම දහමයි බුදු සමිඳුන්නේ
නිවන පතමු අද අද පින් කර ගන්නේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# අඩු පිරවීම
# සත හට සැප ලෙසට දැනේ...

ගිරි කුලකින් හෙලුව නරයෙකු වරදකට
හරි සැප සුළං කීවොත් කිම පවනකට
මැරි මැරි විඳින පස්කම් සුව සිරුරකට
බැරිමය ගන්න සැපයක් ලෙස මනසකට

පස් ඉඳුරන්ට අඩු පුරවන විටදි එන
නිස්සර සුවය ගතහොත් සැප ලෙසට දන
හිස් අදහසකි රිසි ලෙස එය නොපවතින
අස්වෙයි පිරෙන විට සැප යළි එවිට වන

මොහොතක දුකක් ලෙස දැනෙනා කුස ගින්නේ
බොහො සැප ලෙස ගනියි වැටෙනා අහරින්නේ
කොහොමද එ සැප පවතා දිගටම ගන්නේ
ඔහොමයි සුවය අඩු පුරවන විට එන්නේ

ඇස කන නහය දිව සිරුරද කියන හැම
දොස ඇත පෙළෙන බවකින් හැම මොහොතකම
රස දෙන විටදි යළි එයි පෙර ලෙසට සම
තොස ලෙස ගතොත් රැවටීමකි නොමැත අම

අනත වූ සසර ආවෙත් මේ ලෙසට තමා
පණ යන මොහොතකත් අඩුවකි නොවන නිමා
එනකල් හිටියොතින් සුවයක් කමකි ළමා
නැණසින් දකින්නට තවමත් නොමැත පමා

දුක් සැප දෙකම මෙලෙසට එන සසර හවේ
දැක්කොත් හේතු සැප දුක් දෙක යළිදු නොවේ
සක්කරයටත් ඔය විකමය නොමැත සුවේ
රැක්මට දෙයක් නැත මම, මගෙ ලෙසට ලොවේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1071 Rs.25.00
Hela Bodhu Piyuma 71

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.